සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2561 ක් වූ වප් මස (ව්‍යවහාරික වර්ෂ 2017 ඔක්තෝබර්)

73 වෙනි කලාපය

## බුදු ඇසින් දුටු විශ්වයේ කුඩාම අංශුව හෙවත්

## සුද්ධාෂ්ටකය



සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

රු. 25/-



# මව් ගුණ සුවඳ ...

දස මස කුස දරා ඇඟ ලෙය කිරට පෙරූ
සිසිලස සොඳුරු සුව සැලසුව මව්නි ගරූ
අනුහස ඔබගෙ ගැඹුරැය මහ සයුර යුරූ
සෙනෙහස මහ මෙරකි ඇදහිය නොහැකි විරූ

බෝසත් කල එදා දස බල හිමි පොරණ
සීපත් කරමු සමුදුර ගමනක යෙදුන
මෑණිත් කර තබා නිම කළ සඳ ගමන
ඒ උත්තම පිනට කම්පා විය දෙරණ

එම වර සක් දෙවිඳු මෙම අසිරිය දැකලා
එක වර මවගෙ සිතිවිලි දැහැනට බැඳිලා
ගුණ බර තම පුතුට මතු බුදු බව පතලා
උප හර පුදනු මැනවැයි සිත යොමු කරලා

එලෙසයි එදා මවකගෙ විවරණ ලැබුවේ
නියතයි එය දෙසුවෙ දිවකුරු බුදු හිමිවේ
මව වෙයි දෙලොවටම සෙත සැනසුම සැදුවේ
එනිසයි හිරු සඳුද මෙම ලොව දෙස බැලුවේ

සිව් බඹ විහරණාදී ගුණ සුවඳ දිදී
පෙව් කිරිවලට මවකගෙ සෙනෙහසෙහි බැඳී
සව් සත ලොවේ එම සිසිලස සුවය විඳී
මව් ගුණ පිළිබඳව කොපමණ කිවද මදී

ඉපදී දස දහස් වර මෙම රුදුරු හවේ
උරදී දුකට යළි දැන එය දහම ලොවේ
පැහැදී එලෙස විඳගත් කල දැහැමි සුවේ
පිබිදී ගුණ නුවණ බුදු මග හදෙහි මැවේ

පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා





# බෞද්ධයාගේ උපවාසය

සබ්බේ සත්තා ආහාරට්ඨිතිකා කියන බුද්ධ දේශනාවට අනුව, සියළු සත්ත්වයෝ ආහාරයෙන්ම යැපෙනවා කියනකොට කෙලින්ම මතක් වෙන්නෙ අපි කන බොන ආහාරය. එදිනෙදා උදේ දවල් රෑ හෝ ඊට අතරමැද අපි කන බොන දේ තමයි මතක් වෙන්නෙ. මේ කය පවත්වන්න අත්‍යවශ්‍ය කාරණයක් තමයි ඒ ආහාර. බඩගින්න ක්ලාන්ත ගතිය නැති කරගන්න, පෝෂණය සවි ශක්තිය ලබාගන්න ආහාර අවශ්‍යයි. ඉතින් මේ ගැන බහුතරයකට ආපු මේ අදහස සහ ලොව්තුරා බුදුන් වහන්සේ දේශනා කරපු දේ එක සමානද? ඊට එහා ගිය අර්ථයක් තියෙන්න බැරිද? කෙනෙකුට ජීවත් වෙන්න කෑම බීම අවශ්‍යයි කියන කාරණය කියන්න ලොව්තුරා බුදුන් වහන්සේ නමක්ම පහළ වෙන්න ඕනද? සාමාන්‍ය කෙනෙකුට මේක තේරෙන්නෙ නැත්ද? එහෙම නැත්නම් ලොව්තුරා බුදුන් වහන්සේ කිව්ව නිසා බෞද්ධයන්ට විතරද මේ ටික තේරෙන්නෙ? වෙන ආගමක හෝ ජාතියක කෙනෙක්ගෙන් ඇහුවොත් ඔහු කියන්නෙත් ඔය කතාවම තමයි. ඔව්, කෑමයි බීමයි නැතුව කොහොමද කෙනෙක් ජීවත් වෙන්නෙ? ඔහුටත් ඒක කියන්න පුළුවන්.

නමුත් ලොව්තුරා බුදුන් වහන්සේ නමක් කියනව නම්, ඒක අර හැමෝටම හිතෙන්න පුළුවන්, කියන්න පුළුවන් දෙයක් නෙවෙයි. එතනදි උන්වහන්සේ "සබ්බේ සත්තා" කියන තැන අදහස් කළේ සියළුම සත්ත්වයෝ. මතු පිටින් විතරක් හිතපු අය තමන්ගෙ මස් ලේ ඇහැට පේන මිනිස්සු හෝ අනෙක් සිවුපා සතුන් හෝ තිරිසන් ලෝකයේ ඉන්න සතුන් ගැන තමයි බොහෝ විට හිතන්නෙ. නමුත් මෙතනදි සියළු සත්ත්වයෝ කිව්වම, තිස් එක් තලයටම අයිති සත්ත්වයන් ගන්න වෙනවා. භූමාටු දෙවියන්ගේ පටන් අකනිටා බඹ ලොව දක්වාත්, පහලින් තියෙන සතර අපායත් ඇතුලත් වෙනවා. දැන් හිතන්න වෙනවා, එතකොට ඒ අයට අදාළ ආහාර මොනවද කියල. බල්ලෙක් නම් බත් කන්න පුළුවන්. එතකොට **දෙවියෙක් බ්‍රහ්මයෙක්, එහෙම නැත්නම් පෙරේතයෙක්, යක්ෂයෙක්, නිරි සතෙක් වගේ අයට බත් දීල හරි යයිද? එහෙනම් බලන්න වෙනවා, උන්වහන්සේ ආහාර කියල අදහස් කළේ මොකක්ද කියල. ඒක මේ කන බොන ආහාර විතරක් වෙන්න බෑ.**

ඉතින් මේ කිව්ව ආහාර ගැන හොයන්න ලොව්තුරා බුද්ධ දේශනයක්ම ගන්න වෙනවා. මහණෙනි, **උපන් සත්ත්වයන්ගේ පැවැත්ම පිණිසද, උපදිමින් සිටින සත්ත්වයින්ට උපකාරය පිණිසද පවත්නා වූ ආහාරයෝ (හේතු) සතරක් වෙත්.** (ආහාර සූත්‍රය - ආහාර වර්ගය - නිදාන සංයුක්තය - සංයුක්ත නිකාය)

දැන් උන්වහන්සේ මෙතනදි ආහාර වර්ග හතරක් ගැන දේශනා කරල තියෙනවා. ඒ වගේම සත්ත්වයන්ගේ පැවැත්මටත්, උපදින්නා වූ සත්ත්වයන්ට උපකාර පිණිසත් කියන කොටස් දෙකට තමයි මේ ආහාර වර්ග හතර අවශ්‍යයි කියල තියෙන්නෙ. ඒ කිව්වෙ, යම් ජාතියක පැවැත්මටත්, ඒ ජාතිය උප්පාදයට හේතුවක් විදිහටත් ආහාර අවශ්‍යයි කියලයි තියෙන්නෙ. කොටින්ම කියනව නම්, **සත්ත්වයාගේ සසර ගමනට හේතු සාධක හතරක් තමයි මේ ආහාර හැටියට උන්වහන්සේ දේශනා කළේ.** ඊට පස්සෙ උන්වහන්සේ මෙහෙම දේශනා කරනවා,

ඒ ආහාර සතර කවරහුද? මහත් වූ හෝ ඉතා කුඩා වූ හෝ කබලිංකාරාහාරයද (පිඬුකොට වළඳන ආහාරය) දෙවැනි වූ ඵස්සාහාරයද තුන්වැනි වූ මනෝ සංචේතනාහාරයද සතරවැනි වූ විඤ්ඤාණාහාරයද යන මේවායි.

ඒ අනුව ආහාර වර්ග හතරක් තියෙනවා.

1. කබලිංකාර ආහාරය
2. ස්පර්ශ ආහාරය
3. මනෝ සංචේතනා ආහාරය
4. විඤ්ඤාණ ආහාරය

මූලිකව කිව්ව කබලිංකාරාහාරය ගැන විවිධ මත තියෙනවා. තුන් පිටකයේ සිංහල පරිවර්තනවල පවා තියෙන්නෙ, "පිඬුකොට වළඳන ආහාරය" එහෙම නැත්නම් "කැබැලි කොට කන ආහාරය" වගේ අදහස්. දැන් සියළුම සත්ත්ව කිව්වම, ඒ සේරටම මේ කැබලි කරන ආහාරය අදාළද කියල බලන්න ඕන. මනුස්සයෝ කන බොන ආහාර නෙවෙයි සතා සිවුපාවා කන්නෙ බොන්නෙ. ඒ වගේම මනුස්සයෝ නොවන ප්‍රේත කොටස්, අමනුස්ස කොටස්, දෙවියන්... ආදී විවිධ සත්ත්ව කොටස් අනුභව කරන ආහාර සම්පූර්ණයෙන් වෙනස්. ඒ නිසා මේ කබලිංකාරාහාරයට පටු අදහසක් ගන්න බෑ.

තව ටිකක් ගැඹුරට බැලුවම, කෙනෙක් ආහාර ගන්නෙ බඩගින්නටමද කියල හිතල බලන්න ඕන. සමහරු හොඳට කාල බීල මහතට ලස්සනට ඉන්න ඕන කියල කනවා බොනවා. තවත් සමහරු ඇඟ හැඩට වැඩට තියාගන්න ඕන කියල කනවා බොනවා. විවිධ විටමින් වර්ග, පෝෂණ කොටස් තියෙන ආහාර ගන්නවා. ඇස් ලස්සන වෙන්න, දත් ලස්සන වෙන්න, කොණ්ඩෙ වැවෙන්න... ඔය ජාතියේ එක එක ආකාරයේ ඔප මට්ටම්වලට තමයි සාමාන්‍ය ලෝකයා ආහාර ගන්නෙ. එහෙමත් කෙනෙක් තමයි බඩගින්නට කන්නෙ බොන්නෙ. බොහෝ විට ආහාරයක් නිතර නොලැබෙන අය තමයි බඩගින්නටම කියල කන්නෙ බොන්නෙ. ආහාරය ප්‍රත්‍යවේක්ෂා කරල අනුභව කරන උතුමන් ගැන නෙවෙයි

මේ කියන්නෙ. සාමාන්‍ය ලෝකයේ රාග, ද්වේශ, මෝහයෙන් දැවී දැවී ඉන්න අය ගැනයි මෙතනදි අදහස් කළේ. **මේ මස් ලේ කය, එහෙම නැත්නම් තමන්ගෙ ශරීරය ඔප මට්ටම් කරගන්නවට කියන වචනයක් තියෙනවා බලි කරනවා කියල. එහෙම කය බලි කරන්න ගන්න ආහාරය තමයි කබලිංකාරාහාරය කියල කියන්නෙ. මේක ඕනම සත්ත්වයෙකුට අදාළයි. ඒක කෑලිවලට කන්න ඕන, විකල කන්න ඕන එහෙම කියල නෑ.** ඒ වගේම තවත් වැදගත් කාරණයක් බුද්ධ දේශනාව තුලම තියෙනවා.

මහණෙනි, මේ සතර ආහාරයෝ වනාහි කුමක් මුල් කොට ඇත්තාහුද? කුමක් හේතු කොට ඇත්තාහුද? කුමක් උප්පත්ති කොට ඇත්තාහුද? කුමක් ප්‍රභව කොට ඇත්තාහුද? **මේ සතර ආහාරයෝ තණ්හාව මුල් කොට ඇත්තාහ. තණ්හාව හේතු කොට ඇත්තාහ. තණ්හාව උප්පත්ති කොට ඇත්තාහ. තණ්හාව ප්‍රභව කොට ඇත්තාහ.**

දැන් මේ කාරණය ආහාර වර්ග හතරටම පොදුවේ උන්වහන්සේ කියපු කතාවක්. එතකොට කබලිංකාරාහාරයටත් ඔය කිව්ව කතාව අදාළයි. ඒ අනුව බැලුවම කියන්න පුළුවන්, කබලිංකාරාහාරය තණ්හාව මුල් කරගෙන, තණ්හාව හේතු කොට ගෙන, තණ්හාව උප්පත්ති කරගෙන ගෙන, තණ්හාව ප්‍රභවයක් කරගෙන තමයි තියෙන්න. සරලව කියනව නම්, **කෙනෙක් තණ්හාවෙන් ආහාරයක් ගන්නව නම් ඒක අයිති වෙන්නෙ කබලිංකාරාහාරයට.** කයටයි මේ ආහාරය අවශ්‍ය වෙන්නෙ. යමෙක් තණ්හාවෙන් කය වෙනුවෙන් ආහාරයක් ගන්නව නම්, ඒ තණ්හාව හේතු කොටගෙන උපාදානයක් හට ගන්නවා. ඒ උපාදානය හේතුවක් කරගෙන භවයක් හට ගන්නවා. මේ භවය හේතුවක් කරගෙන මතු කයක් ලබන ජාතියක් හට ගන්නවා. ජාතිය කොතැනකද එතැන ජරා, මරණ, සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාස තියෙනවා. තණ්හාවේ ස්වභාවය අනුව කය තීරණය වෙනවා. තණ්හාව තිබුනෙ කබලිංකාර ආහාරයට. ඒ ආහාරය අවශ්‍ය කයකට. ඒ නිසයි මතු කාම කයක් හැදුවෙ.

ඉතින් මේ මතු කයක් හදන එක නතර කරන්න නම් ඒ කයට හේතු වුන ජාතිය නිරෝධ කරන්න ඕන. ජාතිය නිරෝධ කරන්න නම් ඒ ජාතිය හදන ශක්තිය, එහෙම නැත්නම් භවය නිරෝධ කරන්න ඕන. භවය නිරෝධ කරන්න නම්, ඊට හේතු වුන උපාදානය නිරෝධ කරන්න ඕන. ඔය විදිහට උපාදානය නිරෝධ කරන්න නම්, ඊට හේතු වුන තණ්හාව නිරෝධ කරන්න ඕන. තණ්හාව නිරෝධ කරන්න නම්, ඊට හේතු වුන වේදනා නිරෝධ කරන්න ඕන. වේදනා නිරෝධ කරන්න නම් ඊට හේතු වුන ස්පර්ශය නිරෝධ කරන්න ඕන. ස්පර්ශය නිරෝධ කරන්න නම්, ඊට හේතු වුන සළායතන නිරෝධ කරන්න ඕන. සළායතන නිරෝධ කරන්න නම්, ඊට හේතු වුන නාම රූප නිරෝධ කරන්න ඕන. නාම රූප නිරෝධ කරන්න නම්, ඊට හේතු වුන විඤ්ඤාණ නිරෝධ කරන්න ඕන. විඤ්ඤාණ නිරෝධ කරන්න නම්, ඊට හේතු වුන සංඛාර නිරෝධ කරන්න ඕන. සංඛාර නිරෝධ කරන්න නම්, ඊට මූලික වුන අවිද්‍යාව නිරෝධ කරන්න ඕන.

දැන් එක පැත්තක් පැහැදිලියි. අවිද්‍යා මූලික සංඛාර තමයි මේ සඳහා මුල් වෙන්නෙ. ආහාර නිරෝධ කරන්න කිව්වම කරන්න ඕන දේ පැහැදිලියි. නොකා නොබී ඉන්න එක නෙවෙයි උත්තරේ. **ලොව්තුරා බුදුන් වහන්සේ ඇතුළු සියළුම අරිහතුන් වහන්සේලා පිණ්ඩපාත කළා, දානෙ වැළඳුවා. එහෙම කන බොන ආහාර නිරෝධ කළා නම් උන්වහන්සේලා නොකා නොබී ඉන්න ඕන. නමුත් එහෙම දෙයක් වෙලා නෑ.** ආහාර නිරෝධය කියල කිව්වම, නිරෝධ කරන්න අවශ්‍ය සාධකය හමුවුනා. දැන් කබලිංකාර ආහාරය නිරෝධ කරන්න කිව්වම කරන්න ඕන දේ පැහැදිලියි. මෙන්න මේකට තමයි ප්‍රත්‍යවේක්ෂා කරල ආහාර ගත යුතුයි කියල කියන්නෙ. මේ ආහාරයට ප්‍රත්‍ය වුන තණ්හාව ක්ෂය කරලයි ඒ ආහාරය ගත යුත්තෙ. ඇයි මම මේ ආහාරය ගන්නෙ? කය ලස්සන කරගන්නද? හැඩ වැඩ වෙන්නද? නැත්නම් බඩගිනි ක්ලාන්ත ගතිය මගහරව ගෙන නිවන් පූර්ණ කරගන්න පහසුවක් කරගන්නද? උත්තරය පැහැදිලියි. නිවන් මග වඩන කෙනා ආහාරයක් ගන්නෙ අන්න ඒ විදිහට. මේ ක්‍රමයට තමයි ප්‍රත්‍යවේක්ෂා කරල ආහාර ගන්නවා කියන්නෙ. එහෙම නැතුව සේරම ආහාර ටික, ඒ කිව්වෙ කෙසෙල් ගෙඩියි, මී කිරියි, බතුයි, ව්‍යංජනයි... තියෙන හැම එකක්ම අනාගෙන කනවා කියන එක නෙවෙයි.

හැබැයි මෙතනදි වරදවා වටහාගත යුතු නෑ. ඒ ක්‍රමය ප්‍රත්‍යවේක්ෂා කරන්න උපක්‍රමයක් විදිහට භාවිතා කරන්න පුළුවන්. දිව හොයන්නෙ එක එක ජාතියේ රස. මේ රසය දිවට ආහාරයක්. ඒක අයිති වෙන්නෙ ස්පර්ශ ආහාර කියන කොටසට. ප්‍රියමනාප ස්පර්ශයක් ලැබෙනවට කැමතියි, මනාපයි. නමුත් තිත්ත දෙයක් ලැබුනොත් මොකද වෙන්නෙ? එතන ගැටීමක් ඇතිවෙනවා. අපි නිතරම හාවෙලා ඉන්නෙ ප්‍රියමනාප දේට. රස දේට තමයි කැමැත්ත. මේක දිවට විතරක් නෙවෙයි, ඇහෙන් බලන රූපවලටත් අයිතියි. දිවට රසය ආහාරයක් වගේම, ඇසට රූපය ආහාරයක්, කනට ශබ්දය ආහාරයක්, නාසයට ගඳ සුවඳ ආහාරයක්, කයට ස්පර්ශය ආහාරයක්. කලින් අවස්ථාවට අනුව දිවට රසය ස්පර්ශ වුන ගමන් රස නහර සේරම පිනා යනවා. නමුත් තිත්තක් හෝ අප්‍රිය දෙයක් ස්පර්ශ වුනොත් ඊට ප්‍රතිවිරුද්ධ දෙයක් සිද්ධ වෙලා අපහසුතාවයට පත්වෙනවා. රසයට ගිජු වුන කෙනා ඒ රසයන්ම හොයනවා. මෙතනත් තණ්හාව මුල් වෙන නිසා, කලින් කිව්ව විදිහටම මතු ජාතියකට මුල පුරනවා. ඉතින් සියල්ල කලවම් කරල ආහාර ගන්නකොට දිවට විශේෂ රසයක් දැනෙන්නෙ නෑ. ඒ ආහාරයට ඇලෙන්න දෙයක් නෑ. ඉබේම ප්‍රත්‍යවේක්ෂාවට පුරුදු වෙනවා. මේක උපක්‍රමයක් විදිහට භාවිතා කරන්න පුළුවන් කිව්වෙ ඒකයි.

ඊළඟට එන්නෙ මනෝ සංචේතනා ආහාර. **අතීතයේ මෙහෙම තිබුනා, අපි මේ විදිහට හිටියා, දැන් අපි ඉන්නෙ මෙහෙමයි, මතුවටත් ඔය විදිහට තමයි ඉන්න බලාපොරොත්තුව... ඔය ජාතියේ අදහස් හිතට ආහාර වෙනවා. අතීතයේ වෙච්ච දේවල් ගැන හිත හිතා අළුත් දේවල් ගොඩනගනවා. කලින් දැනුන දුකක් ගැන මතක් කර කර දැන් දුක් වෙනවා. කලින් තිබුන මාන්නයක් ගැන හිත හිතා දැන් මාන්නක්කාර වෙනවා.** මේ වගේ සිතිවිලි ගොඩනගන අමුද්‍රව්‍යවලට තමයි මනෝ සංචේතනා ආහාර කියන්නෙ. කලින් කිව්ව වගේ මේකටත් තණ්හාව මූලික වෙනවා, හේතු වෙනවා, ප්‍රභව වෙනවා. උපමාවක් හැටියට, කෙනෙක් ගෙයක් හදන්න ණයක් ගන්න ඉල්ලුම් පත්‍රයක් දානවා. මේ ඉල්ලුම් පත්‍රය දාපු වෙලාවෙ ඉඳන් හිත ඇතුලෙ යමක් වැඩ කරන්න පටන් ගන්නවා. **ලෝක සත්ත්වයින්ගෙ ස්වභාවය තමයි යමක් හැම තිස්සෙම තමන්ගෙ කැමැත්තට සිදුවෙයි කියන සිතිවිල්ලෙන් පසුවීම.**

මේ සිතිවිල්ල උඩ තමයි ලෝකයා දුවන්නෙ. අර ඉල්ලුම් පත්‍රය 100% ක් හරියයි කියන සිතිවිල්ල උඩ මනසට ආහාර එකතු කරනවා. ගේ හදන්නෙ මෙහෙමයි, ජනෙල්වලට දාන්නෙ මෙන්න මේ ලීය, බිත්තිවලට ගාන්නෙ මේ පාට... ඔය හැම දේම මනසින් ගොඩනගනවා. වෙන තැනක දැකපු ගෙයක් හිතෙන් මවාගෙන, අනාගතයට චිත්ත රූප හදනවා.

ඊට පස්සෙ ආරංචි වුනොත් අර ඉල්ලුම් පත්‍රය ප්‍රතික්ෂේප වුනා කියල දැන් මොකද වෙන්නෙ? නැවතත් හිත වෙන පැත්තකට ගිහින් මනසට ද්වේශ සහගත විදිහට ආහාර සපයනවා. අර විදිහටම ගොඩනගපු ජාතිය, ඒ කිව්වෙ මම ගේ හදල ජීවත් වෙන්නෙ මෙහෙමයි කියන ජාතිය, ඉල්ලුම් පත්‍රය ප්‍රතික්ෂේප වුන නිසා වැනසිලා ගියා. දැන් අර ගොඩනගපු ජාතිය නිසා දුකක්ම හට ගත්තා. මේ ජාතිය ගොඩනගන්න විඤ්ඤාණයත් උදව් වුනා. කලින් දැකල තිබුන ගේ අයිති වුනේ මේ විඤ්ඤාණ ස්කන්ධයට. ඒ නිසයි ඒ ජාතියේ ගෙයක් ඕන වුනේ. මේ විඤ්ඤාණ නිකං ගොඩ නැගෙන්නෙ නෑ. තව තවත් එක එක ජාතියේ ලස්සන ගෙවල් බල බලා එකතු කරගන්නවා. මේවා විඤ්ඤාණයට ආහාර වෙනවා. විඤ්ඤාණ ආහාර කියල කිව්වෙ මේ ටිකට.

ආහාරයක් ගත්තත් කබලිංකාර ආහාර, ස්පර්ශ ආහාර, මනෝ සංචේතනා ආහාර, විඤ්ඤාණ ආහාර කියන කොටස් හතර එකට යෙදි යෙදී තමයි අවශ්‍ය ජාතිය අවසානයේ ගොඩ නගන්නෙ. ඒකට තණ්හාව තමයි මුල් වෙන්නෙ, ප්‍රත්‍ය වෙන්නෙ, ප්‍රභව වෙන්නෙ. තණ්හාවට මුල අවිද්‍යාව. අවිද්‍යාව කිව්වෙ නොදන්නකම. ඒ තමයි සරල අදහස. මොනවද



නොදන්නෙ? ගොඩනගන හැම දේකම අවසාන ප්‍රතිඵලය ජරා, මරණ, සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාස බව. ඒක තමයි නොදන්නෙ. එක්කො කැඩෙනවා, බිඳෙනවා. එහෙම නැත්නම් කඩනවා, බිඳිනවා. එහෙම දේකටයි මේ වටිනාකමක් දීල තියෙන්නෙ කියන එක නොදන්නකමයි අවිද්‍යාව කිව්වෙ. මේ කාරණය යම් මූලික මට්ටමකින් දැන ගන්න අවස්ථාවක් එනවා. ඒ අවස්ථාවට කියනවා, සම්මා දිට්ඨියට පත්වුනා, එහෙම නැත්නම් සෝවාන් ඵලයට පත්වුනා කියල. එතන ඉඳගෙන වටිනාකමක් දීපු දේවල්වලට ගොඩනගන ආහාර වර්ජනය කරන්න පටන් ගන්නවා.

මේ ආහාර වර්ජනය කලින් කිව්ව ආහාර හතරටම එකම වෙලාවෙදි කරන්න පුළුවන්. ලෝක සම්මතයේ මේ වර්ජනයට උපවාස කරනව කියලත් කියනවා. ඉතින් බෞද්ධයාගේ උපවාසය තමයි මේ. ඒ තමයි නිවනින්ම කෙළවර කරගන්න පුළුවන් උපවාසය, සතර ආහාර නිරෝධය. සතර ආහාර නිරෝධය කියල කිව්වෙ ඊට මූලික වුන, ප්‍රත්‍ය වුන, ශක්තිය වුන තණ්හා නිරෝධය. තණ්හා නිරෝධයෙන් උපාදාන නිරෝධ වෙනවා. උපාදාන නිරෝධයෙන් භව නිරෝධ වෙනවා. භව නිරෝධයෙන් මතු හට ගන්න ජාතිය නිරෝධ වෙනවා. ජාති නිරෝධ වුන තැන ජරා මරණයක් නෑ. ජරා මරණ නැති තැනට කියනවා අජරාමර කියල. අවසානයේ අජරාමර නිවනින්ම සැනසෙනවා.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් නැවත මතු කරන ලද සැඟවුනු දහම් කරුණුද සමගින් ආහාර සූත්‍රය (සංයුක්ත නිකාය) ඇසුරෙන් සකස් කළේ:*

**ෆික්රි ඉස්මයිල්**
**පරිගණක ඉංජිනේරු**
**ගොතටුව**
**076-3446839**



# මිනිස් කය තියෙද්දිම මිනිස් තිරිසනෙක් පහල වෙන හැටි...

මේ විග්‍රහයේ සමහර තැන් ගැඹුරු වුනත්, මේ පිළිබඳව උනන්දුවක් දක්වන, යම් දුරකට හෝ අවබෝධයක් තියෙන පින්වතුන් ඉන්න නිසා, ඒ අයට යම් ප්‍රයෝජනයක් වෙයි කියන අරමුණින් තමයි මේ කරුණු කෙටියෙන් සටහන් කරන්නෙ. විශේෂයෙන් නූතන මනෝ විද්‍යාවට පවා ගෝචර නොවන කරුණු මේ විග්‍රහයේ අඩංගු වෙනවා. මේ විග්‍රහයේ එන සමහර කාරණා මීට පෙර හෙළ බොදු පියුම 25 වන කලාපයේ "මරණයත් උපතත් අතර සිදුවන සංකීර්ණ ක්‍රියාදාමය" නම් ලිපියෙන් ඉදිරිපත් කරල තියෙන නිසා නැවතත් ඒ පිළිබඳව අවධානය යොමු කිරීම මේ කාරණා තේරුම් ගන්න පහසුවක් වේවි.

අපි රූප දැකීම කියන ක්‍රියාවලිය සිද්ධ වෙන්නෙ කොහොමද? රූප ලෝකයේ වගේම කාම ලෝකයෙත් මතක සටහන් හඳුනා ගැනීමේ ශක්තිය තියෙනවා. අරූප ලෝකයෙත් රූප සම්බන්ධයක් නැතිව මතක සටහන් ඇසුරු කරන ගතිවලට අනුකූලව දැනගන්නවා. සෝතාපන්න වෙච්ච කෙනෙක් අරූප ලෝකවල ඉපදුනා නම් විදර්ශනා මගින් ඉතිරි මග ඵලත් ඒ ලෝකවලදි ලබන බව දහම් නියමයක්. මෙතනදි අපිට වටිනා දෙයක් හිතා ගන්න පුළුවන්. ඒ තමයි, මතකය මෙනෙහි කරන්නත්, කල්පනා කරන්නත් (මනෝ විඤ්ඤාණ පහල කරන්න) හෘද රූපය අවශ්‍ය නැති බව. අපි යමක් දකිනවා කියල නිගමනය කරන්නෙ මොකක්ද? ඇසෙන් දැකීමද? එහෙම නැත්නම්, ක්ෂණයකදි අතීතයට ගමන් කරන දර්ශන ක්ෂණ පිළිබඳව අතීත මතකයන් සමග රටාවක් බලල වටහාගන්න මායා දර්ශනද? ඒ කාරණය මෙහෙම බලමු.

"මම දැක්කා දුවනවා." කෙනෙක් මෙහෙම කියනවා. ඒක අහපු අය, කොහොමද දිව්වෙ කියල ඇහුව නම්, පස්ස බල බලා දිව්වා කියලත් කියන්න පුළුවන්. මේ විදිහට යමෙක් දැකපු ආකාරයක් ප්‍රකාශ කළා කියල හිතන්න. මේ දිවීම දකින්න කොච්චර වෙලාවක් ගත වුනාද? අපි හිතමු විනාඩියක් ගියා කියල. තත්පරයකින් කෝටි ලක්ෂ ගණනකින් පංගුවකදි ඇසේ හට ගත් විඤ්ඤාණ ක්ෂණයක් ගෙවිල ඉවර වෙනවා. ඒ සමගම දැකපු, හට ගත් චක්ඛු විඤ්ඤාණය සහ චෛතසිකත් ගෙවිල කෙළවර වෙනවා. එකම විඤ්ඤාණ ක්ෂණයක්වත් චක්ඛු විඤ්ඤාණ වශයෙන් ඒ චිත්තක්ෂණයෙන් පසු පවතින්නෙ නෑ. ඒකට මොකක්ද වුනේ? ඒ විඤ්ඤාණය කොහොමද හට ගත්තෙ?

රූප ස්පර්ශයට කැමැත්තෙන් ඉන්න කෙනෙක් උපදින කොට, වස්තු රූපය නමින් එක්තරා රූප කලාපයක් කර්ම ශක්තියෙන් පහල කර ගැනීම මුල් පටිසන්ධි මොහොතෙදිම සිද්ධ වෙනවා. මේ වස්තු රූපය කිසි විටෙකත් තනියෙන් තියෙන්නෙ නෑ. කර්ම ශක්තියේ බලයට ගෝචර වෙලා යම් කර්මයක්, කර්ම නිමිත්තක්, ගති නිමිත්තක් ඇසුරු කිරීමේ කැමැත්තෙන් ඊට වස්තු බීජය විදිහට සකස් වෙලා, මනෝ ධාතුව දැන ගැනීමේ බලාපොරොත්තුව හේතුවෙන් ඒක නිශ්‍රය කරගෙන නාම ගෝත්‍ර නම් වූ අතීත භවය අල්ල ගන්න යොමු වෙච්ච කර්ම, කර්ම නිමිති, ගති නිමිති අල්ලන්න, එහෙම නැත්නම් මතකය මෙනෙහි කරන්න හේතු වෙන විදිහට නිශ්‍රය කරගෙන ඉන්නවා. ඒ බලාපොරොත්තුවේ ගතිය නිපදවන ශක්තිය නිසාම, ධර්මයෝ හෙවත් අතීත නාම ගෝත්‍ර ස්පර්ශ කරමින් ඉන්නවා. අනාගතයෙත් බලාපොරොත්තු තියාගෙන අනුරූපයන් ඇසුරු කරන්න යොමු වෙච්ච අදහස තියෙන නිසා, ඒක මනෝ ධාතුවට හෝ මනෝ විඤ්ඤාණ ධාතුවට තනියෙන් කරන්න බැරි නිසා, ඉහත කී වස්තු රූපයේ සුද්ධාෂ්ඨකය අල්ලගෙන බදාගෙන ඉන්නවා. ඒ රූප ස්පර්ශ දැන ගැනීමේ බලාපොරොත්තුව අනුව පවතින ගතිය, හැමතිස්සෙම රූප සම්බන්ධ ලෝකයෙන් දැකීම ස්පර්ශ කරන්න පුළුවන් විදිහට, දර්ශන ඇසුරට සුදුසු විදිහට රූප කලාපයක් ඒ වස්තු රූපයට ළං වෙලා ස්පර්ශ වෙන විදිහට පිහිටුවනවා. ඒක කරන්නෙ ගතියේ ශක්තිය ක්‍රියා කරමින්.

අපි නියම විදිහට ඇස කිව්වෙ මේ චක්ඛු රූප කලාපය වන පරමාණුවට. ඒකෙන් අනුරූප වෙච්ච, ලෝකයේ දර්ශනයට යෝග්‍ය වෙච්ච, වර්ණ කලාපය ඉස්මතු වෙච්ච පරමාණු ඇදගෙන ඒ චක්ඛු රූප කලාපයේ ස්පර්ශ වෙන්න මගක් හදනවා. මේක කර්මජව පහල වෙන ශරීරයේදි ඊට අනුරූපවත්, ආහාර අරගෙන ඝන අවස්ථාවට හැදුන කරජ කායකදි ඊට අනුරූපවත් ගති ශක්තියෙන් නිපදවනවා. ඒකෙන් ඒ රූප දර්ශන විiමාන වන පරමාණුවක් ඇතුළු කරල ඒ කර්ම ශක්තියෙන්ම හෘද රූපය ඇසුරු කරගෙන තියෙන චක්ඛු රූප පරමාණුවේ ඝට්ටනය කරනවා. ඇදගත්ත ශක්තිය ගැටීමෙන් කෙළවර වෙනවා. මේ වෙලාවෙ මනෝ ධාතුවෙන් ආහාරගත් මනෝ විඤ්ඤාණ ධාතුව අතීත නාම රූපවල (කර්ම, කර්ම නිමිති, ගති නිමිති) ගැටෙමින් මනෝ විඤ්ඤාණ පහල කරනවා. නමුත් බාහිරින් රූප දර්ශන ඇසුරේ ආස්වාදයට බලාපොරොත්තු තියාගෙන ඒ සඳහා අවධානය යොමු කරගෙන ඉන්නවා.

දැන් ගැටිච්ච රූප කලාපය ඒ විදිහට එක වරක් ගැටෙන කොට ඝන්ධාරයකට (ගැටෙන ආරය - ඝන්ධාරය) පහරක් වැදුනම ප්‍රතිරාවය නගන්නාක් වගේ දර්ශන ප්‍රතිරාවයක් ඒ රූප කලාපයේ (චක්ඛුරූප කලාපයේ) නැගෙනවා. මේ ඝට්ටන අවස්ථාවේ, ඒ රූප කලාපයේ ඇති වෙච්ච ගැටීම්

කම්පන මොහොතක් සඳහා දාහතෙන් පංගුවක කාලයක් (1/17) ගත වෙනවා. (බලවත් දර්ශනයක් නම්) දැන ගැනීමේ බලාපොරොත්තුවෙන් අතීත නාම ගෝත්‍ර ස්පර්ශයෙන් නාම රූප ඇසුරු කරමින් මනෝ විඤ්ඤාණ ගනිමින් ඉන්නවා. ඒ මනෝ විඤ්ඤාණ ධාතුව ඇසුරේ තිබිච්ච වස්තු රූප පරමාණුව ඒ චක්ඛු රූප කලාපයේ කම්පනය අනුව කම්පා වෙනවා. හරියට බෙරයක එක ඇහැකට තට්ටු කරන කොටම ඒ අනුසාරයෙන් අනිත් පැත්තේ බෙර ඇහැත් කම්පනය වෙනව වගේ. හෘද රූපයත් මොහොතින් චලනය වෙනවා. ඒ සඳහා තවත් දාහතෙන් පංගුවක (1/17) කාලයක් ගත වෙනවා. අතීත භවයට අංග වෙලා තිබිච්ච මනෝ ධාතුව ඇසුරු කරගෙන ඉන්න මනෝ විඤ්ඤාණ ධාතුව ඒ අතීත අරමුණ ඇසුරේ ඉන්න කොටම චලනය වෙනවා. ඒ තමයි භවාංග චලනය. කොයි මොහොතක රූප ස්පර්ශයක ආස්වාදයක් ලැබෙයිද කියල බලාපොරොත්තුවෙන් ඉන්න මනෝ විඤ්ඤාණ ධාතුව, ඒ අතීත නාම රූප ඇසුර අත්හැර දාල මොන ආකාරයේ ස්පර්ශයක්ද කියල දැන ගන්න යොමු වෙනවා. මේ අතීත නාම රූප අරමුණ අත්හරින්න තවත් චිත්තක්ෂණයක් ගත වෙනවා. ඒකට භවාංග උපච්ඡේද කියල කියනවා. කුමන ස්පර්ශයක්ද කියල දැනගන්න යොමු කරන්න නම් තවත් චිත්තක්ෂණයක් ගත වෙනවා. ඒ තමයි පංචද්වාර ආවර්ජනය. (බැලීමෙදි චක්ඛුද්වාර ආවර්ජන, ඇසීමෙදි සෝතද්වාර ආවර්ජන...). චක්ඛු, රූපයෙන් එන බව දැන ගන්නවා. ඒ චක්ඛු, විඤ්ඤාණයට යොමු වෙනවා. ඒ සඳහාත් චිත්තක්ෂණයක් ගත වෙනවා. ඒක ඒ විදිහට එන අරමුණ ගන්න සැරසෙනවා, පිළිගන්නවා. ඒ තමයි සම්පටිච්ඡනය.

මේ තමයි හෘද රූපයත් සමග මනෝ විඤ්ඤාණ ධාතුවේ පිවිසීම. දැන් ඒක කෙබඳු දර්ශන රූපාකාරයක්ද කියල විමසනවා. ඒකටත් චිත්තක්ෂණයක් ගත වෙනවා. ඒක මෙබඳු වර්ණ ස්වභාවයක් කියල නිගමනය කරනවා. ඒ තමයි සන්තීරණය හෙවත් නිගමනය. ඒ සඳහාත් චිත්තක්ෂණයක් ගත වෙනවා. දැන් මනෝ විඤ්ඤාණ ධාතුව මේ හැම අවස්ථාවකදිම මනෝ ධාතුවේ පොහොරින් ඒ ඒ මනෝ විඤ්ඤාණ කොටස් නිපදවා ගන්නවා. ඊට පස්සෙ අනුරූප කටයුතු නිගමනයට බහිනවා. මේ තමයි වොත්තපන අවස්ථාව. දැනට හෘදය රූපය ඇසුරට ආපු ප්‍රතිරාවය (දර්ශන) සඳහා ගත වෙන කාලයෙන් අතීත භවාංග, භවාංග චලන, භවාංග උපච්ඡේද, පංචද්වාර ආවර්ජන (චක්ඛුද්වාර ආවර්ජන), චක්ඛු විඤ්ඤාණ, සම්පටිච්ඡන, සන්තීරණ, වොත්තපන කියල චිත්තක්ෂණ 8 ක් ඒ දර්ශන ප්‍රතිරාවයේ මැදක් යනකල් ගෙවිල තියෙනවා. දැන් මනෝ විඤ්ඤාණයේ චක්ඛු විඤ්ඤාණ අවස්ථාවකින් ඒ දර්ශන ප්‍රතිරාව අනුව ගත්ත නිගමනයට අනුකූල පරිදි චිත්තක්ෂණ 7 ක් යනකල් ඇලීම් වශයෙන් හෝ ගැටීම් වශයෙන් හෝ මධ්‍යස්ථ වශයෙන් හෝ ක්‍රියාත්මක වෙනවා.

මේ තීරණය මේ විදිහට ගන්නෙ, අතීතය අරමුණු කරගෙන ඒ චිත්ත වීතියට පෙර ඇති වෙච්ච චිත්ත වීති රටාව අල්ලගෙන මනෝ විඤ්ඤාණයෙන් ගත්ත මනසිකාර ලක්ෂණය නිසා ඇති කරන ප්‍රිය, අප්‍රිය ගතිය අනුව. ප්‍රිය නම්, ජවනවලින් ආස්වාදයත්, අප්‍රිය නම්, සට්ටන හෙවත් ගැටෙන බවත් ගන්නවා. රාග සහගත හෝ ද්වේශ සහගත හෝ මධ්‍යස්ථ හෝ රැස්කිරීම්, බැඳීම්, ක්‍රියා කිරීම්... ආදිය මේ චිත්තක්ෂණ 7 තුළ සිද්ධ කරනවා. මෙයින් පළමු ජවන හිත මේ අත්බව සඳහා ඒ මොහොතේ පටන් විපාක ශක්තිය නිපදවනවා. ඒක ජවනවලින් ගත්ත ශක්තියක්. කෙළවරේ තියෙන 7 වැනි චිත්තක්ෂණය දුර්වලයි. ඒක බල අඩුයි. මැද චිත්තක්ෂණ 5 සසර කවද හරි විපාක දෙන්න ශක්තිය ඇති කරන බලයට උපකාර වෙනවා. හෘද රූපයේ දර්ශන ප්‍රතිරාව කෙළවර වෙන කොටත් ඉතා දුර්වලව ගිහින් නවතිනවා. වැටහුන ගතිය අනුව ජවන නිපදවන්න ආස්වාද ගන්න අසමත් නිසා, දර්ශන මාත්‍රයෙන්ම ඉතිරි චිත්තක්ෂණ දෙකත් ගෙවෙනවා. රූප දර්ශන කම්පනය හෘද රූපයේ රැඳුන කාලය කෙළවර වෙනවා. මේ චක්ඛු ද්වාර චිත්ත වීතියේ ජවන ස්වභාවයම අරගෙන අනුබද්ධ ආධාරක මනෝ ද්වාර චිත්ත වීති 3 ක් ක්‍රියාත්මක වෙනවා. ඒ චිත්තක්ෂණ 17 ක් ආයුස තියෙන චිත්ත වීති තුනෙන් අන්තිම චිත්ත වීතියේ ජවන හතෙන් මැද ජවන 5 තුල තේරුම් යන විදිහට හිතන්න, කියන්න, කරන්න පුළුවන් බලය ගොඩනැගෙනවා. නැවතත් මනෝ විඤ්ඤාණ ධාතුව මනෝ විඤ්ඤාණ හට ගන්වන අතීත නාම ගෝත්‍ර අළලා භවාංග අරමුණේ පිහිටනවා.

දැන් රූප ගැටෙනකොට හැදුන රූපය නැති වුනා කියල කිව්වෙ පරමාණුව පිපිරුවා කියන එක නෙවෙයි, ප්‍රතිරාවය නගා සිටි කාලය තුළ මතු වෙච්ච රැප්පන ක්‍රියාවලිය බව පැහැදිලියි. **සන්ධාරයට ගහන්න පෙර නිහඬයි. පහර වැදුනම හඬ නැගෙනවා. සිද්ධ වුනේ නිහඬ රූපය කම්පා වීමෙන් ඒ මොහොත තුළ යොදපු බලය නිසා කම්පන රූපයක් ඇති බව දැනීම.** මෙතනදි පරමාණුව කිව්වෙ විද්‍යාඥයන් කියන පරමාණුව නෙවෙයි. කිසි කලෙක වෙන් කරන්න බැරි අති සූක්ෂම රූපයක් වශයෙන් වැටහෙන රූප කලාපයක්. රූප කලාප 2 ක් එකට බැඳෙන කොට, ඇලෙන කොට උෂ්ණ රූප කලාපයක් හට ගන්නව නම් ගතියට ගතිය එකතු වෙනවා. අරමුණු ඇසුරින් යම් ගතියක් මතු වුනාද, මනෝ විඤ්ඤාණයක පහල වෙන ගතිය දාහ සහගත නම්, දාහ දෙන ආකාරයට ඒ රූප පරමාණු පෙළ ගැහෙනවා, මනෝ විඤ්ඤාණය ගත්ත ආකාරයම ගන්නවා. ලිංග, නිමිති, ප්‍රඥප්ති ආදියට අනුරූප වෙච්ච ඒ ගති ශක්තිය අනන්ත විශ්වයේ පටන් තමන් කියන පරමාණුක තිතට එනකල්ම අනුරූපව ක්‍රියාත්මක වෙනවා.

මේ විදිහට අභ්‍යන්තර බාහිර ආයතන නම් වූ ශරීරය පිළිබඳව, බාහිර ලෝකය පිළිබඳව සත්ත්ව/පුද්ගල, ද්‍රව්‍ය/වස්තු විදිහට දැනෙමින් නාම රූපයෝ අනුරූප කරගෙන නිපදවෙනවා. මේ චක්ඛු රූප වීතියක් සඳහා තත්පරයකින් (ක්ෂණයකින්) කෝටි ලක්ෂ වාරයකින් පංගු 17 ක් තරම් ඉතා සුළු කාල මාත්‍රයක් ගත වෙනවා. ඒ වගේම යම් රූපයක් දිහා බලල, මෙබඳු මාත්‍ර ගෙවුනට පස්සෙ, මතකයන් හෙවත් නාම ගෝත්‍ර රටා අරමුණු කරල මනෝද්වාර චිත්ත වීති 3 ක් නැංවුනාට පස්සෙ, ඒ වර්තමාන චිත්තක්ෂණ මොහොතකදි මවා ගන්න රටාව තුළින් අපි "දකිනවා" කියන කටයුත්ත සිද්ධ කරනවා. **උඩ පැන්නා, දිව්වා, ලස්සන රූපයක් දැක්කා... ආදී වශයෙන් කියන අවස්ථා සමූහය තුළ අනන්ත වූ රූප පරම්පරාත්, චිත්ත පරම්පරාත් ඇති වෙලා නැති වෙලා තියෙනවා.** නැතිවුනා කියල කියන කොට ස්කන්ධ සංස්ථිති නියමය අනුව නැතිවෙන්න ක්‍රමයක් නෑ කියන අදහස ගන්න අය, චක්ඛු රූප, සෝත රූප... ආදී රූපයන් හඳුන ගන්නෙ නැතිව බැස ගන්න මුළා නිගමනයක් බවත්, රූපයක වූ කම්පන මාත්‍රයක් මේ විදිහට රූප නමින් හඳුන්වල, ඒ කම්පනය නතර වෙන කොට එයින් ඉස්මතු වෙච්ච කම්පන රූපාකාරය නැති වෙච්ච බවත් දැනගත

යුතුයි. ඒ වගේම මූල ද්‍රව්‍ය එසේම පවතින බවත්, භ්‍රමණ චක්‍රානුසාරයෙන් යළි යළිත් ස්පර්ශ ක්‍රියාවන්ට මුල් වෙමින් අන්තඃ කල්ප ගණනක් කර්මජ, චිත්තජ වශයෙන් ගොඩ නගනකොට ලබන ආයුස ගෙවෙනකල් ක්‍රියාත්මක වෙන බවත් දැනගත යුතුයි.

මේ චිත්තක්ෂණ පිළිබඳව බුද්ධ ඥානයෙන්, අනාවරණ ඥානයෙන් දේශනා කර වදාළ දහම පිළිබඳව, අපිට ඕන හැටියට ප්‍රත්‍යක්ෂ කළා කියල හිත ගැන විග්‍රහ කරන කොට මහත් විකෘති සිද්ධ වෙන්නත් ඉඩ තියෙනවා. මේ කාරණය පැහැදිලි කර ගන්න අභිධර්ම කාණ්ඩයට අයත් පට්ඨාන ප්‍රකරණයෙන් පෙළ දහම් වැකියක් අරගෙන බලමු.

"යං රූපං නිස්සාය මනෝ ධාතුච මනෝ විඤ්ඤාණ ධාතුඤ්ඤ වත්තංති, තං රූපං මනෝ ධාතුයා තං සම්පයුත්ත තානංච ධම්මානං පුරේ ජාත පච්චයේන පච්චයෝ"

යම් රූපයක් නිශ්‍රය කොට මනෝ ධාතුවත්, මනෝ විඥ්ඥාණ ධාතුවත් පවත්නේද, ඒ රූපය මනෝ ධාතුව හා ඒ සමග යෙදෙන ධර්මයන්ට පෙරදී උපන් ප්‍රත්‍යයෙන් ප්‍රත්‍ය වේ.

මේ අදහසේදි වස්තු රූපය නිසාම මනෝ ධාතුව සහ මනෝ විඥ්ඥාණ ධාතුව පවතිනවා, රූපයක් නැතිව එබඳු මනෝ ධාතුවක් හෝ මනෝ විඥ්ඥාණ ධාතුවක් හෝ පවතින්න ක්‍රමයක් නෑ කියන මතයකුත් මේ කාලයේ පහල වෙලා තියෙනවා. මේ කාරණය හොඳින් විමසල බලන කොට යථාර්ථය පැහැදිලි වෙනවා. අරූපාවචර ලෝකවල මනෝ ධාතුවත්, මනෝ විඥ්ඥාණ ධාතුවත්, මනෝ විඥ්ඥාණත් තියෙන බවත්, ලබාගෙන තියෙන මතකයන්ට අනුව හිතන්නත් ඒ අරූපාවචර බ්‍රහ්මයන්ට පුළුවන් බවත් ධර්මයේ සඳහන් වෙනවා.

එහෙනම් සිතීමේ ධර්මතාවයටත් හෘද රූපයක් පිළිබඳව සම්බන්ධයක් අනවශ්‍ය බව පෙනී යනවා. හිතන්න හෘද රූපයක් අනවශ්‍යයි. හෘද රූපය **එකක්. වස්තු රූපය තව එකක්. හෘද රූපයෙන් කරන්නෙ ලෝක ස්පර්ශයන්ට අවශ්‍ය රූප බැලීම, ශබ්ද ඇසීම, ගඳ සුවඳ දැනීම, රස දැනීම, ශාරීරික ස්පර්ශ දැනීම කියන කාරණා පහ.** මේ කාරණා පහට ආසා බලාපොරොත්තු තියෙන කොට මනෝ ධාතුව සහ මනෝ විඥ්ඥාණ ධාතුව හෘද රූපය හෙවත් ඒ ස්පර්ශයන් ලබා ගන්න වස්තු කරගත් රූපයක ඇසුර



බලාපොරොත්තු වෙනවා. මෙතනදි තේරුම් ගන්න ඕන මනෝ ධාතුව, මනෝ විඥ්ඥාණ ධාතුව, මනෝ විඥ්ඥාණය කියන මේවා කාරණා තුනක් මිසක් එකක් නොවන බව. මේ කාරණය උපමාවකින් තේරුම් ගනිමු.

**ලී කියන්නෙ එක වර්ගයක්. ලෑලි කියන්නෙ තව වර්ගයක්. දැව භාණ්ඩ තවත් වර්ගයක්. ලී කියන්නෙ මේ සියල්ලේම මූලය.** ලෑලි කියන්නෙ ලීවලින්, ලී නිසා ඇති වෙච්ච භාණ්ඩ නොවන මූලද්‍රව්‍ය. දැව භාණ්ඩවල මූලද්‍රව්‍යය තමයි ලෑලි. ලෑලිවල මූලද්‍රව්‍ය ලී කියල හඳුන්වනවා. නිසි ලෙස ඉරාගත් ලෑලි ආදිය පවතින්නෙ ලී නිසා. දැව බඩුමුට්ටු පවතින්නෙ ලෑලි ආදී නිසි ලෙස ඉරාගත් ලී කොටස් නිසා. ලීවලින් ලෑලිවලින් බඩුමුට්ටු හැදුවට ලීවලටවත් ලෑලිවලටවත් දැව භාණ්ඩ නිපදවන්න බෑ. ඒ සඳහා වඩුවෙක් අවශ්‍යයි. වඩුවා විiමාන වෙන්නෙ වඩු වැඩ කරන නිසා. **වඩුවට වඩු වැඩ කරන්න පුළුවන් වුනත් ලී නැතිව, ලෑලි නැතිව දැව භාණ්ඩ නිපදවන්නත් බෑ. ලීවලින් තැනිච්ච ලෑලි අරගත්ත වඩුවා, උපකරණත් අරගෙන දැව භාණ්ඩ නිෂ්පාදනය කරනවා. නිෂ්පාදනය ඉවර වුනා නම් වඩුවට ඒ විදිහට හදපු භාණ්ඩ පිළිබඳව තවත් කළ යුතු දෙයක් නෑ.** නමුත් හදපු අත්දැකීම් තියෙන වඩුවා, ඒ අත්දැකීම් උපයෝගී කර ගනිමින් ඒ ඒ මොහොතේ දැව භාණ්ඩ නිපදවනවා. වඩුවගෙ කටයුතු ඒ විදිහට දැව භාණ්ඩ නිපදවනකල් විතරයි.

මනෝ ධාතුව කියල දෙයක් තියෙනවා. තෘෂ්ණාව නමැති වඩුවාගේ පළමු කාර්ය තමයි මනෝ විඥ්ඥාණ ධාතු (මනෝ ධාතුවලින් හැදුන) පහල කර ගැනීම. මනෝ විඥ්ඥාණ ධාතු කියන්නෙ සිත් නෙවෙයි. ඒක සිත්වලට මූල ධාතුව. **තෘෂ්ණාව නමැති වඩුවා විඥ්ඥාණ ධාතු ළං කරගෙන බලාපොරොත්තු ඇති කර ගන්නවා. ඒකෙන් සුදුසු අරමුණු ඇදගෙන ස්පර්ශ කරවමින් විඥ්ඥාණ නිපදවනවා. නිපදවපු විඥ්ඥාණ ගැන බලාපොරොත්තුවට හෙවත් තෘෂ්ණාවට කළ යුත්තක් නෑ. තෘෂ්ණාව නමැති වඩුවා හැමතිස්සෙම බලන්නෙ නව විඥ්ඥාණයක් නිපදවන්න. නිපදවීම තමයි වර්තමානය. නිපදවූ භාණ්ඩ අතීතයට යනවා. ආස්වාදය ලබන්නෙ නිපදවමින්.** නිපදවීමට කරන යම් කටයුත්තක් ඇත්ද, ඒක නිපදවනකල්ම පවතිනවා.

සිතක හෝ විඥ්ඥාණයක හෝ වර්තමාන මොහොතේ පටන් ගැන්ම උප්පාදය කියල හඳුන්වනවා. ඒක කරගෙන යෑම තිට්ය කියල හඳුන්වනවා. කෙළවර වීම තමයි භංගය කියන්නෙ. ඒ කියන්නෙ නිපදවීමේ කෙළවර. ඒ සමගම නිපදවපු විඥ්ඥාණය ඒ පරම්පරාවට සම්බන්ධ අතීතයට යනවා. ඒ විදිහට අතීතයට යන නාම ගෝත්‍රය දිරන්නෙ නෑ. "නාම ගොත්තං නජීරති" කිව්වෙ ඒ කාරණය. ඒ නාමය හෙවත් විඥ්ඥාණය සළායතන සම්බන්ධව චක්ඛු රූප, සෝත රූප, ඝාන රූප, ජිව්හා රූප, කාය රූප... ආදී ලෙස ගත්ත රූප පරමාණුවක ගති ඉස්මතු කරල, හෘද රූපයට ළං කරල තියාගෙන ඒවායින් හෘද රූපය කම්පනය කරනවා. **මේ හෘද රූපයේ කම්පනය චක්ඛු**

**රූපයෙන් නම් එක ආකාරයක්, සෝත රූපයෙන් නම් තවත් ආකාරයක්. මේ විදිහට චක්ඛු, සෝත, ඝාන, ජිව්හා, කාය කියන ප්‍රසාද රූපවලින් එකින් එක ආරෝහණ ආකාරයෙන් වැඩි වෙන විදිහට ස්පර්ශ ගන්නවා. සන්ධාරයකට සිහින් කම්බියකින් ගැසීම, ඉරටුවක් තරම් කම්බියකින් ගැසීම, වේවැලක් තරම් කම්බියකින් ගැසීම, අලවංගුවක් තරම් යකඩයකින් ගැසීම, ඔරොත්තු දෙන්න පුළුවන් අන්තිම ප්‍රමාණයට ලොකු අතකොළුවක් වගේ යකඩයකින් ගැසීම... යනාදී විදිහට මේ කාරණය තේරුම් ගන්න ඕන.**

ඉෂ්ට හෝ අනිෂ්ට රූපයෙන්, ඉෂ්ට හෝ අනිෂ්ට ශබ්දයෙන්, ඉෂ්ට හෝ අනිෂ්ට ගන්ධයෙන්, ඉෂ්ට හෝ අනිෂ්ට රසයෙන්, ඉෂ්ට හෝ අනිෂ්ට ස්පර්ශයෙන් කියන මේවායින් මේ විදිහට වේදනා ගෙන දෙන දේවල් එකිනෙකට බලවත් වන ආකාරය පැහැදිලි වෙනවා. (මේ ඉෂ්ට කියන්නෙ තමන්ට යහපත් වූ ප්‍රිය මනාප දේවල්. අනිෂ්ට කියන්නෙ අයහපත් වූ අප්‍රිය අමනාප දේවල්)

මේ හැම අවස්ථාවකම මේ පහෙන්ම ලැබෙන (රූප කලාප) සට්ටනය වස්තු රූපය තනියෙන් ලබනවා. ඒ කියන්නෙ එක සට්ටනයක් අරගන්න ක්ෂණය තුළ තවත් එකක් ගන්නෙ නෑ. ඒ වගේම බලාපොරොත්තුව අනුව ගතිය ඇති කළාම ඒ ගති ශක්තිය එකවරකට සුදුසු මගකින් එකක් විතරයි ගන්නෙ. ගතිය යම් ආකාරයකට පිහිටල ඇදී සිටිනවද, ඒ මගටම පසිඳුරන්ට සුදුසු විදිහට ක්‍රියාපටිපාටියට ඉඩ සලසනවා. ගතිය මානසිකව, මනෝද්වාරය විතරක් මනෝ විඤ්ඤාණයට ක්‍රියා කරවන්න ඇදිල හිටියොත් කොච්චර රූප, ශබ්ද, ගන්ධ ආදිය ආවත් බලන්නෙ නෑ. එතනදි ශක්තිය ඉඩ නොදෙන නිසා කම්පන මාර්ග අවහිර කරනවා. එතකොට කෙරෙන්නෙ මනෝ ධාතුව නිසා හටගත්ත මනෝ විඤ්ඤාණ ධාතුව ධර්මයෝ ස්පර්ශ කරල මනෝ විඤ්ඤාණ නිපදවීම. **දහනකට සමවදින කොටත් මනෝ රූප ඇසුරු කරන නිසා ඇස, කන ආදියේ ස්පර්ශ හඬ ඇහෙන්නෙ නැත්තෙ ඒ නිසා.**

මීට පෙර සඳහන් කළ පට්ඨාන ධර්ම කාණ්ඩයේ එන විදිහට වස්තු රූපය ඇසුරු කරගෙන පවතින මනෝ ධාතුවත්, මනෝ විඤ්ඤාණ ධාතුවත්, ඒ සමග යෙදෙන චක්ඛු, සෝත... ආදී පංච විඤ්ඤාණයක් පහල කරන්න පෙර වස්තු රූපය ඊට අනුව ප්‍රතිරාවයකින් යුතුව මුලින් පහල විය යුතු බව පෙනී යනවා.. මේ ක්‍රියාවලියෙදි කුමන හෝ රූපයක අමුතු පහල වීමක්වත්, අමුතු නැතිවීමක්වත්, අමුතු හටගැනීමක්වත් නොකියවෙන බවත්, ස්කන්ධ සංස්ථිති නියමයට පටහැනි වීමක්වත්, තියෙන දෙයක නැතිවීමක්වත්, අලුත් දෙයක හටගැනීමක්වත් සිද්ධ වෙලා නැති බවත්, **නවීන විද්‍යා සිද්ධාන්ත මගින් බුද්ධ වචනය වෙනස් වෙන්නෙ නැති බවත් පැහැදිලි වෙනවා.** මේ කාරණය තේරුම් ගන්න බැරිව රූපයෝ ශක්තියක් බවට පත් වෙලා හිත් හැදෙනවයි කියල යමෙක් කියනව නම්, ඒක ධර්ම රටාවට නොගැළපෙන කීමක් බව තේරුම් ගත යුතුයි. සත්‍යාවබෝධය සඳහා ආයතනයන්, නිවැරදි මාර්ගයට සකස් කර ගත යුතුයි. මුළාව ඇසුරු කළ ඇස, කන... ආදී ෂඩ් ආයතනයන්ගෙන සත්‍යය දැකීම කිසි විටෙකත් සිද්ධ වෙන්නෙ නෑ.

**මනුස්සයා පෙර අත්බැවේ චුතවන අවස්ථාවෙදි මිනිස් ගතියෙන් චුත වුනා නම් පටිසන්ධි වෙන්නෙ මිනිස් අත්බැවක්.** ඒ මිනිස් අත්බැව තුළ ආයතන හයක් ඔහු ලබනවා. මේවා මිනිස් බවේ ආයතනයන්. ආයතනය කියන්නෙ මොකක්ද? යම් කර්මාන්තයක් කරගෙන යන ස්ථානය. රජයේ බැංකුවක් පවත්වාගෙන යනව නම් ඒක මුදල් පිළිබඳ බැංකු ආයතනය. ගොඩනැගිල්ල දැක්කම ඒකෙ කටයුතුවලිනුත්, සවි කරල තියෙන දැන්වීම් පුවරු මගිනුත් ජනතාව ඒ බැංකු ආයතනයක් බව දැන ගන්නවා. මේ දැන්වීම් පුවරු සහ ගොඩනැගිල්ල ඒ විදිහටම තියෙද්දි, ඒ මුදල් පිළිබඳ බැංකු ශාඛාව එතැනින් ඉවත් කළා කියල හිතමු. දැන් ඒ ස්ථානයේ දැන්වීම් පුවරු තියෙන නිසාත්, ගොඩනැගිල්ල තියෙන නිසාත්, ගනුදෙනුකරුවන් ඒ ස්ථානයට ගියත් තමන්ගෙ කටයුතු ඉටු කර ගන්න පුළුවන්ද? දැන් බැරි බව වැටහෙනවා. ඒ ස්ථානයේ ආයතනය නැති බව දැන් ගනුදෙනුකරුවන් දැනගන්නවා. ලිපි කටයුතු, මුදල් පරිහරණ කටයුතු කිසිවක් දැන් ඒ ස්ථානයේ සිද්ධ වෙන්නෙ නෑ. මේ විදිහට තියෙද්දි තිරිසන් සතුන්ට බෙහෙත් කරන වැඩපිළිවෙළක් ඒ ස්ථානයේ ආරම්භ කළා කියල හිතමු. දැන්වීම් පුවරුව ඒ විදිහටම තිබ්බත්, දැන් ඒ ගොඩනැගිල්ල දැක්කම පශු වෛද්‍යායතනයක් බව ක්‍රමයෙන් පාරිභෝගිකයා දැන ගන්නවා. ආයතනය වෙනස් වුනා. නමුත් ගොඩනැගිල්ල තවමත් ඒ ස්ථානයේ ඒ විදිහටම තියෙනවා.

මනුස්සයා ගැනත් මේ විදිහටම තේරුම් ගන්න ඕන. උපන් මනුස්සයා මිනිස් ගතියෙන් පහල කරගත්ත ඇස නම් ආයතනයක් තියෙනවා. මිනිස් ඇස තුළ මිනිස් චක්ඛායතනය පවත්වනවා. ඒක මිනිස් ආයතනයක්. රජය ආයතනය වෙනස් කළා වගේ මනුස්සයා තිරිසන් ගතිය ඇති කරන මාර්ගයට පිවිසුනා කියල හිතන්න. දැන් කොහොමද? මේ කයත්, බාහිර නාම රූපයෝත් එකතු වෙලා විඤ්ඤාණ පහල වෙනවා. බාහිර ලෝකයේ තිරිසන් බවට හිමිකම් කියන ආකාර, ලිංග, නිමිති, උද්දේස, ප්‍රඥප්ති පිළිබඳව පසිඳුරන්ගෙන් සහ සිතින් ස්පර්ශ ගන්න කොට, ඒවා ඇසුරු කරන කොට, භාවිතා කරන කොට, බොහෝ භාවිතා කරන කොට විඤ්ඤාණ පහල වෙලා බලවත් වීම සිද්ධ වෙලා ඒ විඤ්ඤාණ නැවත නාම රූප මගින් මතක සටහන් මතුකරමින් ඇස, කන, නාසය, දිව, ශරීරය කියන ඉන්ද්‍රියන් ඒ ක්‍රියා කලාපවල ආයතන බවට පත්කර ගන්නවා. ඒ "නාම රූප පච්චයා සළායතනං" කියන සිද්ධාන්තයෙන්.

**මේ විදිහට නාම රූප තිරිසන් වුනා නම්, පළමුව බාහිර පරිසරයෙන් ඇසුරු කළා නම් ඇස, කන... ආදියේ පිහිටි ආයතන මගින් ඒවා ඇසුරු කරගෙන නාම රූපයෝ තිරිසන් බවට පත් කර ගන්නවා. ඒ තිරිසන් නාම ගෝත්‍ර අතීත නාම පරම්පරාවට ඈඳගෙන මනායතනයත් තිරිසන් නාම රූපත් අභ්‍යන්තරව නිපදවනවා. එයින් තිරිසන් ගතිය ඇති කරන්න හේතුවන සළායතන පහල වෙනවා. ඒ තිරිසන් සළායතන ඔහුට තිරිසන් ස්පර්ශ ලබා දෙන්න හේතු වෙනවා. ඒ මගින් තිරිසන් වේදනා හෙවත් වින්දනත්, තිරිසන් වින්දන නිසා ඒවායේ ඇලීම් ඇති වෙලා තිරිසන් තණ්හාවත්, ඒවා ප්‍රියමනාප විදිහට අරගෙන ඒ ආසාවන් වැලඳ ගැනීම නිසා තිරිසන් උපාදානත්, ඒ හේතුවෙන් තිරිසන් භවත් ලබනවා. දැන් පුද්ගලයා මිනිස් ඇස, කන, නාසය, දිව, ශරීරය... කියන ඉන්ද්‍රියන් ඇතුව ඉදෙත්දිම ඇසුර තුළින් තිරිසන් බව, තිරිසන් ගතිය ඇතිවීමෙන් මෙලොවදීම තිරිසන් ජාතිය ඇසුරු කරනවා. ඔහු සොයන්නෙත් මිනිස් තිරිසන් ගති තියෙන අය.**

මෙලොවදී යමෙක් මේ මිනිස් ශරීරය තියෙද්දිම, බුද්ධ වචනය අනුව පටිච්ච සමුප්පාද ක්‍රියා සිද්ධාන්තය අනුව තිරිසන් ගතිකයෙක් වුනොත්, ඒ විදිහට ඉන්න කල් ඔහු ඉන්නෙ සතර අපාගත වෙන්න පුළුවන්

අවස්ථාවක. එහෙම ඉන්න මොහොතක සත්‍ය ධර්මය අවබෝධ කරන නැණ නුවණක් කොහොම නම් පිහිටන්නද? එතකොට බණක් ඇහුවොත් කොහොම නම් අවබෝධ කරගන්නද? තිරිසන් භවේ ඇලෙන ඔහු ඒ විදිහට ඇලිල බැඳිල අනුකූලව මන්ද බුද්ධිකව ඉන්නවා. තිරිසන් ගතියේ ඉන්න ඔහු කාමච්ඡන්දය කොහොම නම් පහ කරගන්නද? තමන් තුළ තියෙන ගතිය හොයාගෙන ඒ ගතිය හටගන්න නාම රූප ඉවත් කරන්න, තේරුම් ගන්න ඒ ගතිය තියෙන කල් බෑ. මේ විදිහට ඒ ඒ භව, ගති හටගන්නා නාම රූප ඇසුරක් යමෙකුට ඇත්නම් ඔහුට ඒ ගතිය එන්න පුළුවන්කම පවතිනවාමයි. තරහ එනව නම් යක්ෂ ගතිය පිහිටනවා. ලෝභ නම් ප්‍රේත ගතිය නැඟී සිටිනවා. යම් පාපයක් අනුව නැගෙන නාම රූප ඇසුරු කරනව නම්, ඊට අනුරූප සතර අපා ගතියක් ඔහු තුළ නැඟී සිටිනවා. දේව, බ්‍රහ්ම, මනුස්ස ගති තියෙන අය නම් පාපයට බිය ඇති ලජ්ජා ඇති අය විය යුතුයි. මිනිස් නම් සාධාරණ හිත අහිත, හොඳ නරක දකින අය විය යුතුයි.

සමහරෙක් මෙහෙම කියනවා. "මට හොඳට සාධාරණය තේරෙනවා. මම වරදක් නැති හොඳ අයට අපහාස කරන්නෙ නෑ, බනින්නෙ නෑ. හැබැයි අසාධාරණය දුටු තැන නම් එළව එළවා පහර ගහනවා. මම හරි" දැන් මේ අයගෙ කතාව කොහොමද? අපි බල්ලෙක් අරගෙන බලමු. ගෙදර හදන බල්ලට කන්න බොන්න දෙන ගෙදර අය ඌට කොච්චර ගැහුවත් කෑගහනවා මිසක් ඒ අය හපන්න බුරන්න පනින්නෙ නෑ. පිට කෙනෙක් පාරෙ යනකොටත් නිහඬව ඉන්නවා. සමහර අය ඌ නිදාගෙන ඉන්න කොට, උගේ පාඩුවේ ඉන්න කොට ගල්මුල්වලින් ගහනවා. ඌ ඔවුන්ව දැක්කමත් පන්න පන්නා බුරනවා, හපා කනවා. එතකොට ඉහත මනුස්සයා කියපු කරුණු බල්ලත් ඊට වඩා හොඳින් කරනවා. මනුස්සයා දකපු අසාධාරණයට වඩා වැඩි අසාධාරණයක් බල්ලට සිද්ධ වෙලා තියෙනවා. ඌට ගැහුවෙ නිදාගෙන ඉඳෙද්දි උගෙන් කිසි කරදරයක් හිංසාවක් නැතිවමයි. කන්න බොන්න දෙන ගෙදර අය ගැහුවත් ඌ ඒ ගුණය සළකල හපන්නෙ නෑ. ගහන කොට කෑ ගහගෙන ඇකිළිලා ඉඳල නැවත අඬගහන කොට නකුට වනාගෙන යටහත්ව ළඟට එනවා. ඒ උගේ ස්වාමියාට තියෙන ගරුත්වය නිසා. ස්වාමියා තමන්ට අසාධාරණ තැලීමක්, හිංසාවක් කළත් ඌ ගණන් ගන්නෙ නෑ. නමුත් උගේ උපන් බලු භවය, බලු ගතිය එහෙමමයි. ඉහත කියපු මනුස්සයාගේ කියමන අනුව, ඒ වගේ කෙනෙකුට බලු භවයටත් වඩා නීච භවයක් ලැබිය යුතු බව පේනවා. ඒ නිසා ඒක මිනිස් ගතියක් නෙවෙයි.

මේ විදිහට බලන කොට මිනිස් ගතිකයෙක් වීම ඉතා අමාරු බව පේනවා. පාපයෙන් වෙන් වීම, සික්ෂාකාමී බව බොහෝ දුරට තිබිය යුතුයි. මිනිස් නුවණක්, දෙව් නුවණක් ලැබෙන්නෙ ඉතා අමාරුවෙන්. බණ අහන, වටහගන්න නුවණ ලබන්න, මේ අමාරුවෙන් ලැබෙන දෙව් මිනිස් ගතිය තිබිය යුතුයි. ශරීරය නිසා ලබන දෙව් බඹ මිනිස් කියන්නෙ සම්මතයක් විතරයි. උපතින් දෙව් මිනිස් ගති ඒ ඒ සත්ත්වයන්ට තිබුනත්, උපතින් පසු ලබන ඇසුර හේතුවෙන් ගති වෙනස්වන නිසා මේ අසත්ධර්ම ඇසුර මහා අනාථ බවක් වගේම ගොඩ එන්න බැරි මහා දුෂ්කර ප්‍රපාතයකට වැටීමක් බව, හොඳ ගති තියෙන අවස්ථාවෙම හිතාගෙන කටයුතු කරල දහම් වටහාගන්න උත්සාහ කළ යුතුයි. සතර අපා ගතිවලට උරුමකම් හිමිකම් කියන අයටත් මිනිස් අත්බැව් තුළ ලෞකික නුවණේ යම් තරමක දුරක් යන්න පුළුවන්. ඒ නිසා ඉගෙන ගන්නවා, කියවනවා. නමුත් ගැඹුරු අර්ථ වැටහෙන්නෙ නෑ. මේ වගේ සමහර අය පෙර පඬිවරුන්ගෙ, දිවැස් දිවකන් ඇති නැණ නුවණ ඇති උතුමන්ගෙ වචන මාලාවන් ඉගෙන ගෙන හේතු යුක්ති කියල තමන්ගෙ වැරදි මත අනුව නිගමනය කරල මුළා වෙලා මිසදිටු අදහස් ගන්නවා. ඒවායින් උදම් අනමින් දිවි ගෙවල භවයේ පාපය වැලඳගෙන අවසානයේ සතර අපාගත වෙනවා. බුදුන් වහන්සේ වැඩ ඉන්න කාලයේ උන්වහන්සේගෙ මහා කරුණා ඇසට ලක් වූ දාමරිකයන් පවා පෙර අත් බැවක හරි හොඳ ශ්‍රේෂ්ඨ ගති තිබුන නම්, ඒ මහා සෙත් බලයෙන් හරි මගට අරගෙන දහම් දේශනා කරල අවබෝධයට මග පාදල දුන්නා.

රහතන් වහන්සේලා සහ ආර්ය මාර්ගගාමී උතුමන්ලාත් තම තමන්ගෙ බල මට්ටමින් සෙත් පතුරවමින් ලෝක සත්ත්වයා සුමගට අරගෙන යහමගට ගන්නවා. එබඳු බුදු, දම්, සඟ සරණ අද නෑ කියල නොසිතිය යුතුයි. මඩ වළේ ඉන්න අයට තනියෙන් ගොඩ එන්න බැරිව ඉන්න කොට, අතින් අල්ලගෙන ගොඩ එන්න උදව් දුන්නම ඉතා පහසුවෙන් ගොඩට එන්න පුළුවන්. යම් විදිහකින් ඒ වගේ උතුමන්, අපි නැති කාලයක මඩේ වැටෙන අය මේ යදම්වල එල්ලිලා ගොඩට ඒවා කියල, ගොඩබිම කොනක් බැඳපු යදමේ අනෙක් කොන අතට අහුවෙන්න මඩ වළට දාල තියෙනව වගේ, කාම මඩෙන් ගොඩ එන්න තෙරුවන් ගුණ මග සුදුසු විදිහට ඇදල දාල තියෙනවා.



තරුවන් ගුණ කියන්නෙ මහා ප්‍රධාන යදම් තුනක්. මඩේ ඉඳෙද්දි නාගෙන පිරිසිදු වෙන්න බෑ. ගොඩට ඇවිත් නාගෙන පිරිසිදු වෙන්න පුළුවන් වගේ, පළමුව තෙරුවන් ගුණ නිතර ඇසුරු කරමින් වන්දනාමාන පූජා සත්කාර කරමින් මේ විදිහට පළමු අදියර ක්‍රියාත්මක කරල දෙව් මිනිස් ගතිය කියන ගොඩට පැමිණිය යුතුයි. ඉන් පසුවයි දහම් අරුත් හරියාකාරව වැටහෙන්නෙ. එහෙම නැතිව මුළු ත්‍රිපිටක ධර්මයම කට පාඩම් කළත්, හරියාකාරව ගුණ මෙනෙහි කරමින් බුදු ගුණ, තෙරුවන් ගුණ කියන සාගරයට බහින්නෙ නැත්නම් ඔහුට දෙව් මිනිස් ගති පිහිටන්නෙ නෑ. තිරිසන් ආදී ගති තිබුන නම්, හරි දහම් රටාව ආවරණය කරන නීවරණයන් ඒ සුමග වහල දාල තමන් උගත් දහම පවා දඩමීමා කරගෙන අනුන්ට අපහාස කරන්න, තමන්ගෙ පාණ්ඩිත්‍යය පෙන්වන්න, හරිහම්බ කරන ව්‍යාපාරයක් කරගන්න යොදවල තමන්ටම ඒකෙ තියෙන වරද නොපෙනෙන තත්ත්වයට පත් කරගන්නවා. පොර පිටියට ආපු මීහරකෙකුට උගේ ආඩම්බරය, බලපුළුවන්කාරකම පෙන්වනව මිසක් ඇඟේ තැවරෙන මඩ පේන්නෙ නෑ. මේ ගැන අවංකව සිතා බලත්වා !

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් නැවත මතු කරන ලද දහම් කරුණු ඇසුරින් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# බුදු ඇසින් දුටු විශ්වයේ කුඩාම අංශුව හෙවත් සුද්ධාෂ්ටකය...



සුද්ධාෂ්ටක ගැන කතා කරන කොට විශේෂයෙන් කිව යුත්තක් තියෙනවා. සුද්ධාෂ්ටකය සදාතනිකයි කියල හිතුවොත් ඒක සාස්වත දෘෂ්ටියට වැටෙන්න පුළුවන්. මේ මිනිස් ලෝකය හැදිල තියෙන සුද්ධාෂ්ටකවල ආරම්භය, පෙළ දහමේ හෝ අටුවාවක හෝ වෙනම විග්‍රහ කරල නැතත්, තේරුම් ගන්න ඉඩ තියල කරල තියෙන දේශනා පෙළ දහමේ සඳහන් වෙනවා. ඒ කියන්නෙ ලෝකය විනාස වෙලා අන්තඃකල්ප 20 කින් පසු නැවත ගොඩනැගෙන්නෙ, ප්‍රථම ධ්‍යාන තලයේ පටන් ආයුස පිරිහුන බ්‍රහ්මයන්ට ඇතිවන අදහස් අනුව කර්මජ හා චිත්තජ රූප විදිහට ගොඩනැගෙන සුද්ධාෂ්ටකවලින්. බ්‍රහ්මයින්ගෙ මනුස්ස සංඛාර වැඩීම සිද්ධ වෙන්නෙ ප්‍රථම ධ්‍යාන තලයෙදි. ඒ කියන්නෙ බ්‍රහ්ම පාරිසජ්ජය, බ්‍රහ්ම පුරෝහිත, මහා බ්‍රහ්ම කියන බ්‍රහ්ම ලෝක තුනේදි.

ආභස්සර බ්‍රහ්ම ලෝකයේ ඉන්න බ්‍රහ්මයෙක් මනුස්සයෙක් විදිහට පටිසන්ධි ලබන කොට ඉස්සෙල්ලම මේ තුනෙන් එකකට ඇවිත් තමයි චුත වෙලා මිනිස් පටිසන්ධි ලබන්නෙ. ඒ බ්‍රහ්ම කල්පික මනුස්සයො වශයෙන්. මනුස්ස සංඛාර වඩන්නෙ අර බ්‍රහ්ම ලෝක තුනෙන් එකක ඉඳගෙන. ඒවායින් එකින් එකට පල්ලම් බහිනවා. ප්‍රථම ධ්‍යාන තලයට අයිති මේ බ්‍රහ්ම ලෝක තුනෙන් මොකක හරි ඉන්න අයගෙ ආයුස ගෙවුනම ඒ අයට සංඛාර විදිහට එන්නෙ මනුස්ස සංඛාර. ඒ ජාතියේ ඒවා මතක් වෙලා මනුස්ස සංඛාර නැගිල එවෙලෙම චුත වෙනවා. මොකද බ්‍රහ්ම ලෝකෙ ඉඳන් පහළ ලෝකවලට එනකොට ඉස්සෙල්ලම මනුස්ස වෙලා තමයි ඉපදෙන්නෙ. එකපාරටම සතර අපායට යන්නෙ නෑ. කාම ලෝක නොවන නිසා බ්‍රහ්මයෙකුට එක පාරටම සතර අපා ගති එන්නෙ නෑ. මනුස්ස විදිහට ඉපදිලා තමයි පසුව වෙනත් අත්බැව්වලට යන්නෙ. නේවසඤ්ඤා නාසඤ්ඤායතන ආදී අනෙක් බ්‍රහ්ම ලෝකවල අයත් ඒ විදිහටම මනුස්ස වෙලා ඒ හරහා තමයි පල්ලම් බහින්නෙ.

හැබැයි වෙනත් බ්‍රහ්ම ලෝකවල ඉන්න අය ඒ ආයුස පිරිහිලා අර කියන ප්‍රථම ධ්‍යාන තලවලට ගිහින් එතැනින් නැවතත් මනුස්ස වෙනවයි කියන එක බොහොම දුර්ලභ කාරණයක්. එහෙම එනව නම් යම් කිසි වඩපු සමාධියකින් කලින් වඩල තිබ්බ්ච සංඛාරයක් සිහි වෙලා තමයි එන්න ඕන. නමුත් වැඩි හරියක් වෙන්නෙ ඒ අයගෙ ධ්‍යාන / ආයුස පිරිහිලා විපාක වශයෙන් කෙලින්ම මනුස්ස සංඛාර මතුවෙලා එන එක. අපරාපරීය වේදනීය කර්මවලින් තමයි ඒවා නැගෙන්නෙ. එතකොට කෙලින්ම චුත වෙලා මනුස්ස වෙනවා.

**දැන් එතකොට ලෝකය ආරම්භ වන මුල් කාලෙ ගත්තොත්, ඉස්සෙල්ලම චුත වෙලා පටිසන්ධි ලැබුවම ඒ බ්‍රහ්ම කායික මනුස්සයින්ට යන්න එන්න තැනක් නෑ. ඒ නිසා බ්‍රහ්ම කල්පික මනුස්ස වුනත් ආකාසචාරීවයි ඉන්නෙ. ඒ අයගෙ ශරීර ප්‍රභාස්වරයි, ආලෝකය විහිදගෙන තමයි ගමන් කරන්නෙ.**

එතකොට මේ සුද්ධාෂ්ටක ගොඩනැගීමෙන් ආරම්භ වන විවර්ථ කල්පයේ සහ එයින් පසුව පවතින විවර්ථස්ථායී කල්පයට අන්තඃකල්ප 40 ක් ආයුස තියෙනවා. ඒ නිසා මනුස්ස ලෝකය තනපු සුද්ධාෂ්ටකවල ආයුස අන්තඃකල්ප 40 ක් තියෙන කල් ලෝකයේ නොයෙක් දේ ගොඩනැගෙමින් නැවත මූල ධාතුව වන සුද්ධාෂ්ටකයට බිඳී බිඳී යමින්, නැවතත් ලෝක වස්තු ගොඩනගමින් මේ විදිහට සුද්ධාෂ්ටකයට හිමි ආයු කාලය ගෙවෙනකල් ක්‍රියාත්මක වෙලා අන්තිමට අහෝසි වෙලා යනවා. ඒ විදිහට අහෝසි වෙන්නෙ ඒවා සදාතනික රූප මාත්‍ර නොවී හිතෙන් නිර්මාණය කර ගත් රූප මාත්‍රා නිසා.

සුද්ධාෂ්ටකය විනාස වෙන්නෙ නෑ, සදාතනිකයි කියල සමහරුන්ගෙ මතයක් තියෙනවා. ඒ මතය හැබෑ නම්, ඇයි අපි සදාකාලික උප්පත්තියක් නොලබන්නෙ? සුද්ධාෂ්ටකය සදාකාලික නම් අපේ වස්තු රූපයත් සුද්ධාෂ්ටකයක් නිසා ඒකත් සදාකාලික වෙන්න ඕන. මොකද වස්තු රූපය නිසා තමයි සත්වයා ජීවත් වෙන්නෙ. එහෙනම් ඇයි මේ සත්ත්වයාට සදාකාලිකව ජීවත් වෙන්න බැරි කියල ප්‍රශ්නයක් එනවා. **ජීවත් වෙන සත්ත්වයා කියන්නෙ මූල සුද්ධාෂ්ටකයක්. ඇයි ඒත් එක දිගට පවතින්නෙ නැත්තෙ? ඒකත් විනාස වෙන කාලයක් එනවා, ඒකටත් නියමිත ආයුසක් තියෙනවා.** හැබැයි ඒ කියන ආයුස පොත්වල විග්‍රහ වෙලා නෑ. ඒ ආයුසත් සත්ත්ව ලෝකය අනුව වෙනස් වෙනවා.

මනුස්ස ලෝකයේ නම් සුද්ධාෂ්ටකයක ආයුස අන්තඃකල්ප 40 යි. අකනිටා බඹ ලොව බ්‍රහ්මයින්ට නම් මහා කල්ප 60 යි. එතකොට වස්තු රූපයටත් ඒ ආයුස තියෙනවා. ඒ වස්තු රූපයේ සුද්ධාෂ්ටකයත් එච්චර කාලයක් ආයුස ගන්නවා. නේවසඤ්ඤා නාසඤ්ඤායතන බඹ ලොවට යන කොට සුද්ධාෂ්ටකයක ආයුස මහා කල්ප 84,000 ක්. රූපයකින් තොරව වේදනා,

සංඥා හටගන්නෙ නෑ. රූපය කිව්වෙ සුද්ධාෂ්ටකය. ඒකත් කර්මජව හට ගන්න චිත්තජ රූපයක්. ඒකට විශේෂ තැනක් අවශ්‍ය නෑ. කර්ම බලයෙන් අවකාස ධාතුවේ නිපදවෙනවා. ඒක නිපදවල කාලයක් ගියාට පස්සෙ, ඒකට හිමි කාල සීමාව යනකල්ම ස්ථිරව තියෙනව වගේ පේනවා. ඊට පස්සෙ නිර්මිත දෙයක් අතුරුදන් වෙනව වගේ. **නිර්මිත කියන්නෙ සදාතනික දෙයක් නෙවෙයි. හිත මුල් කරගෙන කර්ම ශක්තියෙන් නිපදවපු දෙයක්. ඒ කර්ම ශක්තිය ඉවර වුනාම නිර්මිතයත් ඉවරයි. ගියපු තැනක් නෑ.**

එතකොට සුද්ධාෂ්ටකය පිළිබඳව මේ විදිහට වටහාගන්න ඕන. **සුද්ධාෂ්ටකය පහල වීමේ මූලධර්මය කර්මජ හා චිත්තජයි. හැබැයි මූලික වශයෙන්ම මනස තමයි මුල් වෙන්නෙ. මනෝ සෙට්ඨා මනෝමයා කියන්නෙ මනසින්ම කළා කියන එක. මනසේම ක්‍රියාත්මක වීමක් මිසක් තිබිච්ච දෙයක් නෙවෙයි.** කර්මජ ක්‍රියාවලියත්, චිත්තජ ක්‍රියාවලියත් අවසන් වීමත් සමගම සත්ත්ව / ජීවී සම්බන්ධයෙන් නිදහස් වුන උතුජ රූප කලාපයන් බවට පත් වෙනවා. ඒ නිදහස් වෙන්නෙත් මනසින්ම වැඩ ගන්න හදාගත්තු දෙයක්. ඒක මනෝ මූලිකයි. එතකොට කර්මයෙන්, චිත්තයෙන් පහළ කරපු සුද්ධාෂ්ටකයත් සදාතනික නෑ. මනස මුල් වෙලා වැඩ ගන්න නිර්මාණය කළාට පස්සෙ, ඒකට හිමි ශක්තිය ගෙවිල ඉවර වුනාම නැවතත් ඒ ගැන කතා කරන්න දෙයක් ඉතිරි වෙන්නෙ නෑ.

යමක් මවල පෙන්වන්න කිව්වොත් හැකියාව තියෙන කෙනෙකුට ඒක කරන්න පුළුවන්. අධිෂ්ඨාන කරල මැව්ව නම් යම් කිසි මොහොතකට බලයක් / ශක්තියක් ඒකෙ තියෙනවා. ඒ ශක්තිය / බලය තියෙනකල් ඒකට හිමි ආයුසක් තියෙනවා. නමුත් මුල බැලුවොත් ඒකත් මනසින්මයි නිර්මාණය කළේ. ඒ ශක්තිය ඉවර වුනාම ඒක අතුරුදන් වෙනවා. මැවීමෙදි ගැබ් කරපු ශක්තිය තියෙනකල් ඒක විද්‍යමාන වෙනවා. එතකොට මනුස්ස ලෝකයෙ සුද්ධාෂ්ටකයක් අන්තඃකල්ප 40 ක් තරම් ආයුකාලයක්හිමිකරගෙනපහලවෙනවා. ඒ තමයි කර්මයෙන් සහ චිත්තයෙන් පහල කරන කොටම ගැබ් වෙච්ච ආයු කාලය. ඒක තමයි විශ්වයේ තියෙන බිඳින්න බැරි කුඩාම අංශුව. ඒ නිසා තමයි සුද්ධ වූ **(තවදුරටත් සුද්ධ කළ නොහැකි හෙවත් බිඳිය නොහැකි)** අටකය හෙවත් සුද්ධාෂ්ටකය කිව්වෙ. **සුද්ධ වෙච්ච කොටස් 8 කින් හැදිච්ච නිසා තමයි ඒ නමින් හඳුන්වන්නෙ. ආපෝ, තේජෝ, වායෝ, පඨවි, වර්ණ, ගන්ධ, රස, ඕජා කියන්නෙ ඒ කොටස් අට.**

ඒ නිසා මේ කාලයේ කෙබඳු **පර්යේෂණයක් කළත්, සුද්ධාෂ්ටක නම් වූ මූලද්‍රව්‍ය බිඳෙන අවස්ථාවක් දැක ගන්න නැති නිසා ඒක සදාතනික මූලද්‍රව්‍යයක් කියල මුළාවට පත්වෙන්න පුළුවන්.** ඒ හේතුවෙන් මූලද්‍රව්‍ය කිසි කලෙක විනාසයට පත් වෙන්නෙ නෑ කියල සමහරු මතයක් ඉදිරිපත් කරල තියෙන බව පේනවා. මොකද **මනුස්සයො යමක් දැක්කොත් ඒක ඇති දෙයක් කියල දෘෂ්ටියකට බහිනවා. ඒ දෘෂ්ටිය අනන්ත කාලයක පටන් සත්ත්වයා අරගෙන එන දෙයක්. එතකොට ඒක නැතිවුනාම අහනවා, කොහාටද ගියේ මොකද වුනේ කියල. මොකද අර දෘෂ්ටිය බලවත් නිසා. මේ කාරණය ගැන බලනකොට නවීන විද්‍යාවට පේනවා, ස්කන්ධ සංස්ථිථි කියල නියමයක්. ඒකෙන් කියනවා මේක නැති වෙලා නෑ, වෙනස් වෙලා තියෙන්නෙ, වෙනස් ජාතියෙ එකක් බවට පත්වෙලා තියෙන්නෙ කියල. ඉතින් ඔය විදිහට වෙනත් ජාතියක් බවට පත්වීම තවදුරටත් බලාගෙන ගියොත් අන්තිමට බලන්න යන්ත්‍ර සූත්‍රත් නැති වෙනවා. මොකද සුද්ධාෂ්ටකයට යනකල් බිඳීම ගත්තම ඒක යන්ත්‍ර සූත්‍රවලට අහු වෙන්නෙ නෑ. බුදු ඇසට විතරයි ගෝචර.**

ඉතින් මේ සුද්ධාෂ්ටකය බිඳින්න බෑ. යම් කිසි විදිහකින් සුද්ධාෂ්ටකය දක්වා බිඳීමේ ක්‍රියාවලිය යන්ත්‍ර සූත්‍රවලට අහු වුනා නම් ඒ සුද්ධාෂ්ටකයට කොච්චර කල් ආයුස තියෙනවද කියල විද්‍යා සිද්ධාන්ත මගින් දකිනවා. එතකොට තමයි දකින්නෙ සුද්ධාෂ්ටකයට හිමි ආයුස ඉවර වුනාට පස්සෙ ඒකත් ඉවරයි කියල. සුද්ධාෂ්ටකය මනෝ මූලිකයි. ඒ නිසා යම් කිසි ආයුසකින් ඒකත් ඉවර වෙනවා. ඒක දැන ගත්ත නම් ලෝක විනාසයත් දකිනවා. ඉතින් මේ කියන කාරණය යන්ත්‍ර සූත්‍රවලින් ඔප්පු කරල පංචේන්ද්‍රියන්ගෙන් දකින්න බැරි නිසා, බුදු ඇසින් දැකල විස්තර කළාම නැණ නුවණින් තේරුම් ගන්න ඕන දෙයක්. හටගත්ත සියළු සතර මහා භූත කියන්නෙ සුද්ධාෂ්ටකයෙන් නිර්මාණය වෙච්ච සංඛත. ('සං' කියන යම් එකතුවකින් සකස් වෙච්ච දෙයක්). ඒකත් විනාස වීමේ උරුමයට හිමිකම් ලැබූවක්. **විනාස නොවන කිසිවක් ලෝකය තුළ හෙවත් රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ තුළ පහල වෙලා නෑ, පහළ වෙන්නෙත් නෑ.**

සුද්ධාෂ්ටක ගත්තම සතර අපායේ, මනුස්ස ලෝකයේ, දිව්‍ය ලෝකයේ, බ්‍රහ්ම ලෝකයේ සුද්ධාෂ්ටකවල ආයුස එකින් එකට වෙනස් වෙනවා. මනුස්ස ලෝක සීමාවේ සුද්ධාෂ්ටකවල ආයුස අනුව සතර මහා භූතයන්ගේ ස්වභාවය තීරණය වෙනවා. ඒ වගේම සුද්ධාෂ්ටකයේ භ්‍රමණ චක්‍ර වෙනස් වීමකින් සතර මහා භූතයන්ගේ යම්කිසි දුර්වලතාවයන් එන කාල වකවානු තියෙනවා. ඒ භ්‍රමණ චක්‍රවල අඩු වැඩි වීම් නිසා තමයි සුද්ධාෂ්ටකයේ ක්‍රියාකාරී බලය වෙනස් වෙන්නෙ. සුද්ධාෂ්ටකයේ ක්‍රියාකාරී බලය වැඩි වෙනකොට සතර මහා ධාතුත් ඒ කාලයට බලවත් වෙනවා. එතකොට ඒ භ්‍රමණ චක්‍රවල ක්‍රියාකාරීත්වය අඩු වැඩිවීම් නිසා තමයි එහෙම වෙන්නෙ. උදාහරණ විදිහට පෙට්‍රල් කියන්නෙ ශක්තියක්. වාහනයක පෙට්‍රල් ටැංකියට ගැලුම් ගණනක් ගහනවා. ඒ පෙට්‍රල් තියෙනකල් අපිට පුළුවන් ඒ වාහනයෙන් වේගයෙන් යන්න, හෙමින් යන්න, කඳු අදින්න, වායු සමීකරණ යන්ත්‍රය ක්‍රියාත්මක කරන්න. මේ ආදී වශයෙන් සියල්ලම කරගෙන යන්න පුළුවන්. හැබැයි පෙට්‍රල් ටික ඉවර වුනාට පස්සෙ ඒ කටයුතු සියල්ලත් නවතිනවා. අන්න ඒ වගේ දෙයක්.

ද්‍රව්‍ය වස්තු හැදෙන්නෙ සතර මහා ධාතුන්ගෙන්. සතර මහා ධාතු හැදෙන්නෙ සතර මහා භූතයන්ගෙන්. **සුද්ධාෂ්ටකයේ ආයුස වෙනස් නොවී භ්‍රමණ චක්‍ර වෙනස් වෙන කොට සතර මහා භූතයන්ගෙ ශක්තියත් ඒ අනුව අඩු වැඩි වෙනවා. ඒ අනුව තමයි ඒවායින් නිර්මාණය වෙලා තියෙන ද්‍රව්‍ය වස්තුවල ආයුස තීරණය වෙන්නෙ.** උදාහරණ විදිහට පේර ගෙඩියක තියෙන්නෙත් සුද්ධාෂ්ටක. නමුත් පේර ගෙඩිය ඉදිල වැටිල කුණු වුණාම කාබනික ද්‍රව්‍ය බවට පත් වෙලා වෙනස් වෙනවා. නැවතත් ගස් වැල්වලට උරාගෙන ද්‍රව්‍ය වස්තු විදිහට පහළ වෙනවා. හැබැයි ඒ පේර ගෙඩියම නෙවෙයි. වෙනස් වෙනස් ද්‍රව්‍ය විදිහට පහළ වෙන්නෙ. ඒ වෙනස් වීම තමයි ඍතු (උතුජ) පරිණාමය නිසා ඇති වන උතුජ රූප කියන්නෙ. උතුජ රූපවලින් තමයි ඒ පේර ගෙඩියේ අංශු වෙනස් වෙලා නොයෙක් පරිණාමික අවස්ථාවන් බවට පත් වෙන්නෙ.

ඒ සියල්ලටම මුල ගත්තොත් සුද්ධාෂ්ටකවල

භ්‍රමණ චක්‍ර තමයි බලපාන්නෙ. භ්‍රමණ චක්‍ර කැරකෙන්නෙ යමක් අළුතින් නිර්මාණය කරන්න. ඒකට තමයි කැරකි කැරකි ක්‍රියාත්මක වෙන්නෙ. ඒකෙන් තව තවත් නිර්මාණය කරනවා. නමුත් සුද්ධාෂ්ටකයේ ආයුස වෙනස් වෙන්නෙ නෑ. සුද්ධාෂ්ටකවල භ්‍රමණ චක්‍ර ක්‍රියාත්මක වීමේ අඩු වැඩි වීම නිසා සතර මහා භූතයන්ගෙ ආයුස අසංඛයටම වැඩි වෙන කාලයක් එනවා. ඒ සතර මහා භූතවල ශක්තිය අඩු වැඩි වෙන්නෙ මනුස්සයින්ගෙ ලෝභ, ද්වේශ, මෝහ, අලෝභ, අද්වේශ, අමෝහ කියන හේතු හය අනුව. මේ හයෙන් එතූ නිසා තමයි හේතු කියන්නෙ. ලෝභ, ද්වේශ, මෝහයන්ගෙන් කෙරෙන්නෙ හැදිච්ච රූපයන්ගේ පරිවර්තනය. ඒ නිසා සුද්ධාෂ්ටකවල භ්‍රමණ වේග වෙනස් වෙන්න මනුස්සයාගේ චිත්ත වේගයත් බලපානවා. භ්‍රමණ වේගය ගත්තත් ක්‍රම 2 ක්. එකක් තමයි සුද්ධාෂ්ටකය ආරම්භ වෙනවත් එක්කම උරුම කරගෙන එන භ්‍රමණ වේගය. ඒක වෙනස් වෙන්නෙ නෑ. ඊළඟ එක තමයි ඒ යන අතරතුරදි ඒකෙන් වැඩ ගන්නකොට එන භ්‍රමණ වේගය. ඒ භ්‍රමණ චක්‍රවලින් තමයි බාහිර ලෝකය හදන්නෙ. අන්න ඒ දෙවෙනියට සඳහන් කරපු භ්‍රමණ වේගය තමයි මනුස්සයින්ගෙ චිත්ත වේගය අනුව වෙනස් වෙන්නෙ. මේ දෙකෙන් තමයි ශක්තිය ගැබ් කරල සුද්ධාෂ්ටකය ක්‍රියාත්මක වෙන්නෙ. මනුස්ස ලෝකයේ නම් අන්තඃකල්ප 40 ක් යනකොට සුද්ධාෂ්ටකවල මේ භ්‍රමණ චක්‍රත් අවසන් වෙනවා. එතකොට සුද්ධාෂ්ටකයේ ආයුස කල්පාන්තය දක්වාම ගිහින් තමයි අවසන් වෙන්නෙ.

එහෙනම් මේ කියන සුද්ධාෂ්ටක ලෝකය විනාස වෙන කොට විසිරිලා යනවා. ලෝකය හට ගන්න කොට නැවතත් හැදෙනවා. ඒ හට ගත්ත ලෝකය විනාසයේදි නැවතත් විසිරිලා යනවා. මේ විදිහට දිගටම යනවා. ආරම්භ වේරම්භ කියන්නෙත් මේ සිද්ධිය. ආ + ර + ම් + භ - ආරම්භ. ආ - නැවත ගොඩනගන, ර - ක්‍රියාකාරීත්වය, ම් - භ්‍රමණ චක්‍රය, භ - බිහි වුණා. ඒ කියන්නෙ ආරම්භ වුණා. වේරම්භ කියන්නෙ වැය වෙන පැත්ත. වේ - වැය වෙනවා, ර - ක්‍රියාකාරීත්වය, ම් - භ්‍රමණය, භ - බිහි වීම. ඒ කියන්නෙ වැය වීමේ බිහි වීම. පහළ තියෙන කාබන්ඩයොක්සයිඩ් ආදිය එකින් එක වේරම්භ වායුව විදිහට ඉහළට ගිහින් සුද්ධාෂ්ටකවලට යනකල් බිඳිල යනවා. ඕසෝන් ස්ථරය කියන්නෙත් සුද්ධාෂ්ටක. ඒක විසාල කාන්දමක් වගේ. එතැන් පටන් නැවත වරක් ආරම්භ වෙනවා. ලෝකයේ



අලුතින් වස්තු හැදෙන්නෙ ඒකෙන්. වැස්සත් එක්ක මිශ්‍ර වෙලා ඒ පරමාණුක ශක්තිය නැවතත් පොළවට එනවා. ඒ ශක්තියෙන් නැවත වරක් ගස් කොළන් හැදිල එල දරල නැවතත් භුක්ති විඳිනවා. ඉතින් ඔය චක්‍රය ඉවරයක් නෑ, දිගටම යනවා.

අද ඉන්න ක්ෂුද්‍ර ජීවියා, කුරා කූඹියා පවා එදා බ්‍රහ්ම කල්පික මනුස්සයෙක්. එහේ ඉඳල තමයි මේ දක්වා පල්ලම් බැහැල තියෙන්නෙ. ඒ නිසා උන්ටත් මේ මහ පොළොවෙ හිමිකමක් තියෙනවා. මොකද උන් එදා බ්‍රහ්ම කල්පික මනුස්සයො වෙලා විහිදවපු ශක්තිය මේ මහ පොළොවෙ තියෙනවා. එතකොට ඒ සත්තු එදා නිෂ්පාදනය කරපු යමක් තියෙනවා. ඒ නිසා හැම සත්ත්වයෙකුටම ලෝකයේ හිමිකමක් තියෙනවා. ඉතින් මේ චක්‍රය අදත් සිද්ධ වෙනවා. තවම ඉවර නෑ. ලෝකෙ හටගෙන තියෙන කාලෙත් ඔය ක්‍රියාවලිය සිද්ධ වෙනවා. ඒ සිද්ධ වෙන නිෂ්පාදනයත් මේ ලෝකයට එකතු වෙනවා. ඒවා චිත්තජ රූප වුනත් කිරණ විදිහට තමයි දිවැසට / සමාධියට පේන්නෙ. මේ චිත්තජ රූප එන්නෙ ඒ විදිහට. නමුත් ඒවාට සිද්ධ වෙන දේ ගැන අපි දකින්නෙ නෑ. අපේ මස් ලේ ඇහැට පේන්නෙ නෑ. අලෝභ, අද්වේශ, අමෝහවලින් තමයි සෙත් කිරණ එන්නෙ. ඒක බ්‍රහ්මයාගේ පටන් මනුස්සයින්ගෙනුත් ගුණ වඩපු මට්ටමට විහිදෙනවා. ලෝකයේ තියෙන ගිනි කිරණ හුඟක් ඒකෙන් පුච්චනවා. ඒ නිසා තමයි මේ ලෝකය විනාස නොවී සමබර වෙලා මේ විදිහට පවතින්නෙ. නැත්නම් මේ ලෝභ, ද්වේශ, මෝහවලින් එන විස කිරණ නිසා ලෝකය ගිනි ගන්නවා.

හැබැයි සත්ත්වයා මනුස්ස මට්ටමත් ඉක්මවා ගිහින් පහත් තත්ත්වයට පත් වෙලා විපාක විඳින මට්ටමට ආවම ඒ සංඛාරවලින් නිපදවෙන අර ශක්තිය අඩු වෙනවා. අන්තිමට ක්ෂුද්‍ර තත්ත්වයට පත් වුනාම ඒ නිර්මාණය කිරීමේ ශක්තිය නැතිවෙලාම යනවා. ඊට පස්සෙ උන් විපාක විඳ විඳ ඉන්නවා. ඒක ලෝභ, ද්වේශ, මෝහවල කර්ම විපාකයක්. එතනදි ඒක ගෙවන්න ඕන.

ලෝකයක් ආරම්භ වෙන කාලයේ මුලම සුද්ධාෂ්ටක නෑ. හිස් අවකාශයක් විතරයි තියෙන්නෙ. හැබැයි මේ කාරණය පොත්වල විග්‍රහ කරල නෑ. මනුස්ස ලෝකයක් ආරම්භ වෙන්න යන්නෙ අන්තඃකල්ප 20 ක තරම් කාලයක්. යම් කිසි විදිහකින් කර්ම ශක්තිය අනුව සුද්ධාෂ්ටකවල භ්‍රමණ චක්‍ර පවතින කොට, ඒ සුද්ධාෂ්ටකවලින් හැදිච්ච සතර මහා භූතයන්ගේ ක්‍රියාකාරීත්වයට සුද්ධාෂ්ටකයේ ගැබ් වෙලා තියෙන ශක්තිය හේතු වෙනවා. ඒ නිසා භ්‍රමණ චක්‍රවල වේගය කාලයෙන් කාලයට අඩු වැඩි වෙනවා. වැඩි වෙන කාලයට මනුස්ස ලෝකයේ නම් අසංඛය දක්වාම මනුස්සයින්ගෙ ආයුසත් වැඩි වෙන්න පුළුවන්. ඒ හැර සාමාන්‍යයෙන් දිව්‍ය බ්‍රහ්ම වගේ ඉහළ තලවලට යනකොට ස්වභාවයෙන්ම ක්‍රමයෙන් ඒ ලෝකවල තියෙන සුද්ධාෂ්ටකවල ආයුස වැඩි වෙන නිසා, ඒ ලෝකවල ඉන්න සත්ත්වයින්ගෙත් ආයුස වැඩි වෙනවා. ඒ කාලය තුළ ඒ ඒ ලෝකවල තියෙන ද්‍රව්‍ය වස්තුත් එච්චර කාලයක් පවතිනවා.

උදාහරණ විදිහට අකනිටා බඹ ලොව සුද්ධාෂ්ටකවලට මහා කල්ප හැට ගණනක් ආයුස තියෙනවා. ඒ බ්‍රහ්මයින්ටත් එච්චර ආයුසක් තියෙනවා. ඒ කාලය ඉවර වෙනකල් ඒ අයගෙ ශරීර

විනාස වෙන්නෙ නෑ. ඒ සුද්ධාෂ්ටකයට හිමි ආයුසම ඒ බ්‍රහ්මයින්ටත් තියෙනවා. නමුත් මනුස්ස ලෝකය සහ තිරිසන් අපායෙදි ඒ සීමාව වෙනස් වෙනවා. ඒ කියන්නෙ සුද්ධාෂ්ටකවලට හිමි ආයුසම මනුස්සයින්ට හෝ තිරිසන් අපාගත සත්ත්වයින්ට හෝ හිමි වෙන්නෙ නෑ. ඊට වඩා හුඟක් අඩු ආයුසක් තමයි ඒ ලෝකවල සත්ත්වයින්ට ලැබෙන්නෙ. සතර අපාය, මනුස්ස ලෝකය සහ දිව්‍ය ලෝක කියන්නෙ කාම ලෝක. ඒවා ලෝක විනාසයත් එක්කම විනාස වෙන නිසා ඒ ලෝකවල ආයුස බ්‍රහ්ම ලෝකවලට වඩා අඩුයි. එතකොට ලෝක විනාසයෙදි ඒ විනාස වන ලෝකවල සුද්ධාෂ්ටකත් විනාස වෙනවා. රූපාවචර බ්‍රහ්ම ලෝක ගත්තත් ලෝක විනාසයට අහුවෙන බ්‍රහ්ම පාරිසජ්ජය, බ්‍රහ්ම පුරෝහිත, මහා බ්‍රහ්ම, පරිත්තාභය, අප්පමානාභය කියන ප්‍රථම ධ්‍යාන තල තුනටයි ද්විතීය ධ්‍යාන තල දෙකටයි අහුවෙන මේ බ්‍රහ්ම ලෝක පහේ සුද්ධාෂ්ටකවල ආයුස අඩුයි. ආභස්සර බ්‍රහ්ම ලෝකයේ ඉඳන් ඉහළ බ්‍රහ්ම ලෝකවල ආයුස වැඩියි. කොටින්ම කියනව නම්, ලෝක විනාසයට අහුවෙන ලෝකවල සුද්ධාෂ්ටක ආයු කාලය සාපේක්ෂව අඩුයි.

ඒ වගේම මේ සුද්ධාෂ්ටක ගත්තම **ලෝකය නිර්මාණය වෙන මුල් කාලෙ බ්‍රහ්ම කල්පික මනුස්සයින්ගෙන් හැදිච්ච සුද්ධාෂ්ටක බලවත්. මේ කාලෙ මිනිස්සු හදන සුද්ධාෂ්ටක බොහෝ කොටම රාග, ද්වේශ, මෝහවලින් බර නිසා බලයෙන් අඩුයි. ඊට පස්සෙ තිරිසන් සතුන්ගෙන් ඒ විදිහෙ චිත්ත ශක්තියක් නිපදවෙන්නෙ නෑ. ඒ නිසා ප්‍රබල අයගෙ සුද්ධාෂ්ටකත් ප්‍රබලයි. තිරිසන් සතුන්ගෙන් ඒ වගේ ප්‍රබල සුද්ධාෂ්ටක නිපදවෙලා ලෝකයට එන්නෙ නෑ. එහෙම එන ඒව තිබුනත් ඒවා ක්‍රියාත්මක කරන්න තරම් බලවත් නෑ.**

මුලින්ම සුද්ධාෂ්ටක නිර්මාණය වුනාට පස්සෙ අන්තඃකල්ප 20 ක් ලෝකය පවතින කාලය. ඊට පස්සෙ එන්නෙ විනාස වෙන කාලය. එතකොට ඒ ලෝකෙ සියලු සත්තු විනාස වෙනවා. ඒ කාලෙට සියලු සුද්ධාෂ්ටක විනාස වෙන්න පටන් ගන්නවා. ඒකටත් අන්තඃකල්ප 20 ක් යනවා. ඊළඟට විනාස වෙලා පවතින අන්තඃකල්ප 20 ක කාලයක් එනවා. ඒ කාලයට සියල්ලම ඉවරයි. ඒ කියන්නෙ මුලින්ම අලෝභ, අද්වේශ, අමෝහවලින් හට ගත්තු ඒවයි පසුව ලෝභ, ද්වේශ, මෝහවලින් හට ගත්තු ඒවයි සියල්ලම විනාස වෙනවා. නැවත වරක් බ්‍රහ්ම කල්පික මනුස්සයගෙන් තමයි ලෝකය හැදෙන්නෙ. එතකල් බ්‍රහ්ම තලයේ ඉන්න අය එහේ ඉඳගෙන හැදෙනව මිසක් මේ ලෝකෙ හදන්නෙ නෑ. එතැන් පටන් අන්තඃකල්ප 20 ක් ලෝකය විනාස වෙලා පවතින කාලයේ සුද්ධාෂ්ටක නෑ. නැවත මනුස්ස ලෝකයේ සුද්ධාෂ්ටක හට ගන්නෙ ප්‍රථම ධ්‍යාන තලයේ ඉන්න බ්‍රහ්මයො මනුස්ස සංඛාර වඩල ඕපපාතිකව මනුස්සයො වශයෙන් උපදින්න එනකොට. එතකොට පැරණි මනුස්ස නාම ගෝත්‍ර මනසේ ක්‍රියාත්මක වෙලා ඒකට ඇළුම් කරනවා.

සුද්ධාෂ්ටක විනාස වෙලා පවතින **කාලය බැලුවොත් ඒ කාලයට සතර අපාය, මනුස්ස ලෝකය, සදිව්‍ය ලෝක නෑ. ආභස්සර බ්‍රහ්ම ලෝකයට පහළින් තියෙන බ්‍රහ්ම ලෝකත් නෑ. ඒ කොටස් හරියට රික්තකයක් වගේ. එතකල් වායු ගෝලයක්වත් නෑ. මොකද වායු කියන්නෙත් සුද්ධාෂ්ටක.** එතකොට සුද්ධාෂ්ටකය කියන්නෙ මනසේ නිර්මාණයක් සහ කර්ම ශක්තියෙන් හටගත්ත දෙයක් මිසක් ඇති දෙයක් නෙවෙයි. **මනසින් නිර්මාණය කළා නම් ශක්තියකින් පෙන්නුවට ඒක රූප මායාවක් මිසක් යථාර්ථයක් නෙවෙයි.** කවද හරි ඒකත් විනාස වෙනවා. හරියට ඍද්ධි බලයෙන් නිර්මාණය කරල පෙන්වපු දෙයක් වගේ. එතකොට යමක් තියෙනව පේනවා. අල්ලන්නත් පුළුවන්. නමුත් නිර්මාණය කරල දුන්න දෙයක්. නිර්මාණය කළා නම් ඒක පෙර තිබ්ච්ච එකක් නෙවෙයි. හිතෙන් නිර්මාණය කළා නම් ඒ දුන්නු ශක්තිය ගෙවිල ඉවර වුනාම ඒකත් ඉවරයි. නැවතත් තියෙන තැනක්, තියෙන දෙයක් පෙන්වන්න බෑ. **නිර්මාණය කළේ මායාවක්. මායාවක් ගෙවිල ගියා. නිර්මාණය කරන්න පෙර තිබුනෙත් නෑ. හිතේම නිර්මාණයක් පේන්න තිබුනා. ඒක ඒ වගේම ක්‍රියාත්මකත් කළා. ඒ තිබ්ච්ච ශක්තිය ඉවර වුනාම ඒක අතුරුදන් වෙනවා. සතර මහා භූතත් ඒ වගේ.**

ආකාසය හැදෙන්නෙ බ්‍රහ්මකල්පික මනුස්සයින්ගෙ මනසින් විහිදෙන කිරණවලින්. සම්පත්තිකර මහා මේඝ වර්ෂාව එන්නෙ මනුස්සයින්ගෙ පුණ්‍ය සංඛාරවල ශක්තියට. ඒකෙ පටන් ගැන්ම බ්‍රහ්ම කල්පික මනුස්සයො. ඉහළම ජල අංශු පහළටම ඇවිත් ඒ ඒ තැන්වල ජල ගෝල හැදෙනවා. ඒවා ස්වභාවික රසායන මිශ්‍ර ජල ගෝල. ඒ සියල්ල හැදෙන්නෙ සුද්ධාෂ්ටක සංයෝගයන්ගෙන්. පහු වෙද්දි ඒවායින් ගොඩබිම හැදෙනවා. එහෙම හැදිල අර කලින් තිබුන වගේ මනුස්ස, දේව තල ඒ ඒ තැන්වල හැදෙනවා. අවකාසය කියන්නෙත් ඒකටමයි. ඒක සුද්ධාෂ්ටකවලින් හැදිච්ච එකක් නෙවෙයි. නමුත් ඒ තුළට සුද්ධාෂ්ටක ආවට පස්සෙ ආකාස ධාතුව හට ගන්නවා. ඒ ආකාසයට ද්‍රව්‍ය වස්තු සම්බන්ධයි. එතකොට **අවකාසයයි ආකාසයයි කියන්නෙ දෙකක්. අවකාසය තුළ යමක් තියෙනවා. හරියට හිස් භාජනයක් ඇතුළට බඩුමුට්ටු දැම්ම වගේ. නැවතත් එළියට ගත්තම භාජනය හිස් වෙනවා. හැබැයි හිස් බව සදාකාලික නෑ.**

ලෝකයක් හට ගන්නා කාලය, හටගෙන පවතින කාලය, විනාස වෙන කාලය, විනාස වෙලා පවතින කාලය කියන මේ හතර එන්නෙ කාම ලෝකයට (සතර අපා, මනුස්ස, දිව්‍ය) සහ අර විනාස වෙන බ්‍රහ්ම ලෝක පහට විතරයි. එතනින් ඉහළ බ්‍රහ්ම ලෝක ඒ ලෝක විනාසයට අහු වෙන්නෙ නෑ. ඒවා විනාස වෙන්නෙ ධර්මතාවයෙන්ම ඒ ලෝකවල ඉන්න බ්‍රහ්මයො ගෙනාපු කර්ම ශක්තිය ඉවරවෙන කොට. ඒ ඒ අයට උරුම වෙච්ච ඒ ලෝකවල විමන් ආදිය පහළ වෙලා ඒ අයගෙ ආයුසත් ගෙවිල ශරීරත් ගෙවුණම ඒ විමන් අතුරුදන් වෙනවා. ඊට පහළින් තියෙන බ්‍රහ්ම, දිව්‍ය ලෝකවල ඒ බ්‍රහ්මයන්ගෙ හෝ දෙවියන්ගෙ හෝ මරණයත් එක්කම ඒ විමන් විනාස නොවී හිස් වෙනවා. එතකොට කර්ම ශක්තියෙන්ම ඊට ගැළපෙන සුදුසු දෙවියන්, බ්‍රහ්මයින් ඒ විමන්වලට උප්පත්ති වශයෙන්ම එනවා. ඒ ලෝකවල දෙවියෙක් හෝ බ්‍රහ්මයෙක් හෝ චුත වුනොත් ලෝක විනාසය වෙනකල් සහ අර විදිහට සුදුසු අය උප්පත්තියට එනකල් ඒ විමන් හිස්ව තියෙනවා. නමුත් විනාස වන ලෝකවලට ඉහළින් තියෙන බඹ තල ගත්තම ඒවා පවතින්නෙ ඒ අයගෙ ජීවිත කාලය තුළ විතරයි. හරියට තැනින් තැන අභ්‍යවකාශයේ තියෙන වළාකුළු කැදලි වගේ. ඍද්ධි බලයෙන් තමයි ඒ අයට ඕන තැනක යන්න එන්න පුළුවන් ශක්තිය ලැබෙන්නෙ. එතකොට ඒ විමන් වළාකුළු කැදලි වගේ වෙන වෙනම පිහිටල තියෙන්නෙ.

විනාස වෙන ලෝක තල නැවත ඇති වෙන්නෙත් මේ කියන ක්‍රම රටාවටම තමයි. ඒ නිසා නැවත හැදෙන කොට ☞

ඉස්සෙල්ලම හැදෙන්නෙත් ප්‍රථම ධ්‍යාන තලයේ බ්‍රහ්ම ලෝක. ඒ අයගෙ සුද්ධාෂ්ටකවලින් ඒ ලෝකය හැදෙනවා. ආභස්සර බ්‍රහ්ම ලෝකයෙන් තමයි පල්ලම් බහින්න පටන් ගන්නෙ. එහෙම ගිහින් බ්‍රහ්ම පුරෝහිත, බ්‍රහ්ම පාරිසජ්ජ විදිහට පිරිහිලා අන්තිමට ඒකෙනුත් ශක්තිය විහිදිලා එතනින් පිරිහුනාට පස්සෙ නැවතත් මනුස්ස බවට පත් වෙනවා. ඒ තමයි බ්‍රහ්ම කල්පික මනුස්සයො. ඒ අයට ආකාසයේ ගමන් කරන්න පුළුවන් සූක්ෂම ශරීර තියෙන්නෙ. ඇහැට පේන්නෙ නෑ. ගුප්ත ලෝකයේ ඉන්න භූතයින්ටත් වඩා සියුම්. දෙවියන්ටත් වඩා සියුම්.

ඔහොම කාලයක් යනකොට තමයි අපි දැන් මේ ඉන්න ලෝකය නිර්මාණය වෙන්න පටන් ගන්නෙ. ඊට පස්සෙ සම්පත්තිකර මහා මේඝය, ලෝක ගෝලය, ජල ගෝලය හැදිල භූමි පටක කියන ආහාරය කිරි යොදයක් වගේ හැදෙනවා. ඒක හරි සුවඳයි, රසයි. අන්න ඒ සුවඳයි රසයයි දෙක අල්ලගෙන තමයි ඊළඟට මනුස්ස ලෝකෙ උපාදාන කරන්නෙ. මුලදි ප්‍රීතිය ආහාර කරගෙන ජීවත් වෙලා ඊළඟට ස්පර්ශ ආහාරයට වැටුනම කබලිංකාර ආහාරයෙන් ජීවත් වෙන්න පටන් ගන්නවා. ඒක ආඝ්‍රාණය කරනවා, ස්පර්ශ ආහාර ලබා ගන්නවා. ඊළඟට තමයි කබලිංකාර ආහාරවලට යන්නෙ. කබලිංකාර ආහාර ගන්න ඕන නිසා ක්‍රමයෙන් ශරීර ඝනීභවනය වෙනවා.

හැබැයි මේ ක්‍රියාවලිය සිද්ධ වෙන්න අවුරුදු කෝටි ගණනක් යනවා. එහෙම නැතිව හදිසියේ සිද්ධ වෙන දෙයක් නෙවෙයි. ටිකෙන් ටික සේයා රූප වැඩි වෙලා ඝනීභවනය වෙලා ආකාසයෙන් යන්න පුළුවන් ශක්තිය නැති වෙලා බිම පයින් යන්න පටන් ගන්නවා. භූතයො පයින් යනව වගේ ඇහැට පෙනෙන නොපෙනෙන මට්ටමේ රූපකායක් හැදිල ඒ ඒ අය එකතු වෙලා ඉන්නවා. එහෙම තමයි මුල් කාලෙ ජීවත් වුනේ. කාලයක් යනකොට තමයි අර භූමි පටක අනුභව කරල ශරීර ඝනීභවනය වෙන්නෙ. ඊටත් පස්සෙ තමයි ක්‍රමයෙන් දස අකුසල්වලට පෙළඹිලා තිරිසන් මට්ටමටත්, එතනින් තවත් ක්ෂුද්‍ර මට්ටමටත් පල්ලම් බහින්නෙ.

ඉතින් මනුස්සයා බිහිවෙන්නෙ ඔය ක්‍රමයට. සම්පත්තිකර මහා මේඝ වර්ෂාව සකස් වෙන්නෙ ඒ ආරම්භයේදි. මොකද ප්‍රථම ධ්‍යාන තලයේ ඉන්න බ්‍රහ්මයින්ගෙ ආයුස ගෙවිල යන කොට ඒ අයට මතක් වෙනවා තමන් පෙර හිටපු හැටි. එතකොටම පැරණි නාම ගෝත්‍ර (මතක සටහන්) සිහි වෙලා මනුස්ස ලෝකයේ උපාදානය අල්ලනවා. ඒත් එක්කම ඊට අනුරූප රූප කලාප නිපදවෙනවා. ඒවා කර්ම, චිත්ත ශක්ති දෙකෙන් තමයි සිද්ධ වෙන්නෙ. ඒ නිෂ්පාදනය වෙන ඒවා පහළට එන්නෙ සම්පත්තිකර මහා මේඝයක් වශයෙන්. ඒක තමයි මහා මේරු වර්ෂාව කියල හඳුන්වන්නෙ. එහෙම හැදිල තමයි මුලින්ම මනුස්ස ලෝකයක් හට ගන්නෙ. බාහිර ලෝක හැදෙන්නෙත් ඒ ක්‍රම රටාවටම තමයි. උතුජ රූප හැදිල ඒවා අන්තඃකල්ප 40 ක ආයුසින් තමයි ගොඩනැගෙන්නෙ.

සත්වයෙක්ගෙ චිත්තජ රූපයක් හටගන්න කොටම ඒක උතුජ රූපයක් බවට පත් වෙනවා. එතනින් හිතේ නිෂ්පාදනය අවසන් වෙලා ඒක විශ්වයට නිදහස් වෙනවා. ඊට පස්සෙ ඒක ස්වභාවික රූපයක්. ඒ විදිහට සත්වයින්ගෙ සිත්වලින් නිපදවෙන චිත්තජ රූප උතුජ රූප බවට පත් වෙලා තමයි මේ බාහිර ලෝකයේ තියෙන ඉර හඳ තාරකා, ගස් වැල්, ගල්, ඇල දොල ගංගා... ආදී සියල්ලමත් හැදෙන්නෙ.

ඉතින් අනන්ත සංසාර කාලය තුළම ඕක තමයි සිද්ධ වුනේ. මතුවට සිද්ධ වෙන්නෙත් ඒකම තමයි. ඒ අතරතුර පවතින ඉතා කුඩා කාල මාත්‍රයක් තමයි අද අපි මේ "මම, මගේ" කියල අල්ලගෙන ජීවත් වෙන කාලය. මේ අනන්ත කාලය දිහා බැලුවොත් ඒක මේ ඇහි පිය ගහන මොහොතක් තරම් කුඩා කාල මාත්‍රයක්. නමුත් ඉතින් සාමාන්‍ය ලෝක සත්ත්වයා මේ අතීතය, අනාගතය දිවැසකින් හෝ ප්‍රඥාවකින් හෝ නොදකින නිසා මේ වර්තමාන කුඩා කාල සීමාවකට "මම, මගේ" කියල අල්ලගෙන බදාගෙන පොරකනවා, ගහ මරා ගන්නවා. ඒ කාරණය ඉස්සෙල්ලම ලොව්තුරා බුදුවරයන් වහන්සේ නමක් ලෝකයට පහල වෙලා හෙළිදරව් කළාට පස්සෙ, ඒ කාරණය දහම් ඇසින් දැක්ක ආර්යන් මේ ගමන නවත්වන්න උත්සාහ කරනවා.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර*
*මහ තෙරුන් වහන්සේ විසින්*
*නැවත මතු කරන ලද*
*සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**



# ඔබ රෝගය හඳුනා ගත් ආරෝග්‍ය ලාභියෙක්ද ?

**ශ්‍රාවකඃ** පසුගිය සාකච්ඡාවෙදි අපි කතා කළේ සම්මා දිට්ඨි සූත්‍රයේ පෙන්වා දෙන නිවන් දකින එක ක්‍රමවේදයක් ගැන. තවත් ඒ වගේ ක්‍රමවේද රාශියක් තියෙනව නේද ?

**දේශකඃ** ඔව්. අද කතා කරන්න බලාපොරොත්තු වෙන්නෙ <u>මාගන්ධිය සූත්‍රයේ</u> (මජ්ජිම නිකාය 2 - 299 පිටුව) තියෙන ක්‍රමවේදයක් ගැන. මේ ක්‍රමවේදය අද වෙනකොට සම්පූර්ණයෙන්ම වැහිල තියෙන එකක්. ඒකට හේතුව තමයි මේ ධර්මය දේශනා කරන්න භාවිතා කරල තියෙන වචනවල සැබෑ අර්ථය වැහිල වචනාර්ථය පමණක් මතු වෙලා තිබීම. මාගන්ධිය සූත්‍රයේදිම බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙනවා, දහම් අරුත් කාලයක් යනකොට පෘතජ්ජනීකරණය වන බව.

**ශ්‍රාවකඃ** පෘතජ්ජනයො කියන්නෙ මේ ධර්මය තේරුම් ගත්තෙ නැති අයට නේද ?

**දේශක :-** ඔව්. ඒ අය මේ දේශනාවල තියෙන වචනවල නිවන් දකින්න අවශ්‍ය වන අර්ථය, ඒ කියන්නෙ ආර්ය අර්ථය දන්නෙ නෑ. ඒ අය දන්නෙ භාෂා නීති රීතිවලට අනුව ඒ වචනවලට අද සමාජයේ භාවිතා වෙන ලෞකික අර්ථ විතරයි. නමුත් භාෂා දැනුම විතරක් තිබුනට මේ ශ්‍රී සද්ධර්මය වටහ ගන්න බෑ. ඒ සඳහා අර්ථ, ධර්ම, නිරුක්ති, පටිභාන කියන ක්‍රමවේදයට අනුව වචනවල අර්ථ වටහ ගන්න ඕන.

**ශ්‍රාවකඃ** ඒ කියන්නෙ අර්ථ, ධර්ම, නිරුක්ති, පටිභාන කියන ඥාන ලබා ගත්ත උත්තමයෙක්ගෙන් අහලම දැනගෙන මිසක් වෙනත් ක්‍රමයක් නෑ කියන එක නේද ?

**දේශකඃ** සියළු මගඵල ලාභීන්ට ඔය ඥානය යම් ප්‍රමාණයකට හෝ තියෙනවා. බුදු රජාණන් වහන්සේ තමයි ඔය ඥානයෙන් අගතැන්පත් වෙන්නෙ.

**ශ්‍රාවකඃ** නියම ආර්ය අර්ථය නොදැන වචනාර්ථය විතරක් දැනගෙන යම් ධර්මයක් බුදුන් වහන්සේ දේශනා කළා කියල කියනව නම්, බුදු රජාණන් වහන්සේ දේශනා නොකළ යමක් දේශනා කිරීමක් වෙනව නේද ?

**දේශකඃ** ඔව්. ඒක තමයි අද ලංකාවෙ වැඩිපුරම සිද්ධ වෙන්නෙ. අපි මේ මාගන්ධිය සූත්‍රය විස්තර වශයෙන් සාකච්ඡා කළාට පස්සෙ හැමෝටම වටහාගන්න පුළුවන් වෙයි කොතනද වැරදිලා තියෙන්නෙ කියල.

**ශ්‍රාවකඃ** එහෙම වැරැද්දක් වෙලා තියෙනව නම් ඒක සුළුපටු වැරැද්දක් නෙවෙයි නේද ?

**දේශකඃ** ඔව් ඒක ඇත්ත. ඒක සංඝ භේද කර්මයක් විදිහට ගැනෙන්න පුළුවන්. හැබැයි බුදු රජාණන් වහන්සේ දේශනා නොකළ දෙයක් දේශනා කළ විදිහටත්, දේශනා කළ දෙයක් දේශනා නොකළ දෙයක් විදිහටත් ප්‍රකාශ කරල භික්ෂූන් වහන්සේලා වෙනම රැගෙන ගිහින් පොහොය කරනව නම් තමයි ඒක කර්ම පථයක් බවට පත්වෙන්නෙ. ඒ කාරණය සංඝ භේද සූත්‍රයේ (අංගු. නි. 6 - 131 පිටුව) පෙන්වා දීල තියෙනවා.

**ශ්‍රාවකඃ** හරිම භයානක තත්ත්වයක් නේද ? මෙච්චර පෙන්වා දීම් කරල තියෙද්දිත් දිගින් දිගටම වැරදි අර්ථ සමාජගත කරමින් ඉන්න අයට අන්තිමට මොකද වෙන්නෙ ?

**දේශකඃ** තවමත් පරක්කු නෑ. මේක නිවැරදිව තේරුම් අරගෙන වරද වරද හැටියට දැනගෙන ආයති සංවරයේ පිහිටනව නම්, ඒ අයට අභිවෘද්ධියක් මිසක් පිරිහීමක් නොවන බව බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙනවා.

**ශ්‍රාවකඃ** හැම දෙනාටම දහම් ඇස පහල වේවා කියල අධිෂ්ඨාන කරල, ත්‍රිපිටකයේ සඳහන් මේ ශ්‍රී සද්ධර්මය නිවැරදිව තේරුම් ගන්න දැන් උත්සාහ කරල බලමු.

**දේශකඃ** ඔව්. ඒ සඳහා මේ මාගන්ධිය සූත්‍රයේ සඳහන් ධර්ම කරුණු හොඳින් විමර්ශනය කරල ගැඹුරින් කල්පනා කරල වටහා ගන්න බලන්න. මාගන්ධිය බමුණත් එදා බුදු රජාණන් වහන්සේ ගැන වැරදියට තමයි දැනගෙන තිබුනෙ. ඔහුගෙ යාළුවෙක්ගෙ ස්ථානයකට බුදු රජාණන් වහන්සේ වැඩම කරල තියෙන බව දැනගත්තම, ඔහු ඒ යාළුවටත් දොස් කියන්න පටන් ගත්තා. මොකද ඒ වෙනකොටත් බුදු රජාණන් වහන්සේ සම්බන්ධව වැරදි විදිහට තමයි බ්‍රාහ්මණ ආචාර්යවරු මේ මාගන්ධිය බමුණට ☞

උගන්වන අවස්ථාවලදී වටහල දීල තිබුනෙ. ඒ වැරදි ආකල්පත් දරාගෙන තමයි එදා බුදු රජාණන් වහන්සේ සමග සාකච්ඡාවක් පටන් ගත්තෙ. බුදු රජාණන් වහන්සේ මාගන්ඩිය බමුණට පංච කාමයන්ගෙන් මිදුනට පස්සෙ ලබා ගන්න පුළුවන් සුවය ගැන කරුණු පැහැදිලි කරල දුන්නා.

**ශ්‍රාවකඃ** අපි හැමෝම දන්නෙ පංච කාමය ඇසුරු කරල සුව විඳින්න. නමුත් මෙතන කතා වෙලා තියෙන්නෙ පංච කාමයෙන් මිදිල විඳින සුවයක් ගැන. එහෙම සුව විඳින ක්‍රමවේදයක් ගැන බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙනවද ?

**දේශකඃ** මොකද නැත්තෙ? මාගන්ඩිය සූත්‍රයෙත් ඕන තරම් දේශනා තියෙනවා. පංච කාමයෙන් මිදිල විඳින ධ්‍යාන සුවය ගැන හොඳට විග්‍රහ කරල තියෙනවා. ඇයි අහල නැත්ද ආර්ය ධ්‍යාන ගැන? ප්‍රථම ධ්‍යානය, ද්විතීය ධ්‍යානය එහෙම කියල තියෙන්නෙ. කාමයන්ගෙන් වෙන්ව, අකුසල ධර්මයන්ගෙන් වෙන්ව, සවිතක්ක සවිචාර සහිත, විවේකයෙන් හටගත් ප්‍රීති, සුඛ, ඒකාග්‍රතා සහිත ප්‍රථම ධ්‍යානයට පැමිණ වාසය කරනව කියල විස්තර කරල තියෙන්නෙ.

**ශ්‍රාවකඃ** අහල තියෙනවා. නමුත් මට නම් ඒව ගැන අත්දැකීම් නෑ.

**දේශකඃ** මෙතනදි මාගන්ඩිය බමුණට පෙන්වල දෙන්නෙ, පංච කාමයන්ගෙන් මිදිල ධ්‍යාන සුව විඳින කෙනෙකුට නැවත පංච කාම සුව විඳින්න ඕනකමක් ඇතිවෙන්නෙ නෑ කියන එක. මොකද කියනව නම්, ධ්‍යානවලින් ලබා ගන්න සුවය අතිශයින්ම ප්‍රණීතකර සුවයක්. ඒක පංච කාම සුවයත් එක්ක සංසන්දනය කරන්න පුළුවන්කමක් නෑ.

**ශ්‍රාවකඃ** ඉතින් ඔය විදිහට ආර්ය ධ්‍යාන වඩපු නැති කෙනෙක් ඒක දැනගන්නෙ කොහොමද ?

**දේශකඃ** ඔය මාගන්ඩිය බමුණත් එහෙම කෙනෙක් නිසා ඔහුටත් ඕක තේරුනේ නෑ. නමුත් බුදු රජාණන් වහන්සේ උන්වහන්සේගෙම ගිහි ජීවිතය ගත කරපු ආකාරය පවා උදාහරණයක් විදිහට අරගෙන බොහොම සරලව විස්තර කරල දෙනවා.

**ශ්‍රාවකඃ** ඒ විදිහට උදාහරණ සහිතව පැහැදිලි කරල දුන්නොත් නම් තේරුම් ගන්න අපහසු වෙන එකක් නෑ. ඊට පස්සෙ ඉතින් මාගන්ඩිය බමුණා මේ කාරණය තේරුම් ගත්තද ?

**දේශකඃ** හොඳ අවධානයකින් හිටිය නම් වටහාගන්න තිබුනා. නමුත් ඒ උදාහරණයෙන්වත් ඔහුට වැටහුනේ නෑ.

**ශ්‍රාවකඃ** එච්චර සරලව උදාහරණ මගින් පහදල දීලත් ඔහුට වැටහුනේ නැත්තෙ ඇයි ?

**දේශකඃ** ඒකට එච්චර පුදුම වෙන්න දෙයක් නෑ. මෙච්චර කාලයක් තිස්සෙ ඔය මාගන්ඩිය සූත්‍රය කියවපු කාටවත් ඒක නිවැරදිව වැටහිලා තිබුනෙ නෑනෙ. හැමෝම තේරුම් අරගෙන හිටියෙ පෘතජ්ජනීකරණය වෙච්ච වචනවල අර්ථය විතරයිනෙ.

**ශ්‍රාවකඃ** ඒක තමයි වහරක අභයරතනාලංකාර හාමුදුරුවො ඔය වැහිච්ච අර්ථ මතු කරල දුන්නෙ නැත්නම් අපි හැමෝටම තවමත් ඉතින් අඳුරෙ අතපත ගගා තමයි ඉන්න වෙන්නෙ.

**දේශකඃ** ඔය මාගන්ඩිය බමුණත් ඔය ආකාරයටම අර්ථ වහගෙන හිටපු කෙනෙක් බව මේ සාකච්ඡාව තව ටිකක් ඉදිරියට යනකොට ඔබටත් වැටහේවි. හැබැයි බුදු රජාණන් වහන්සේ තව තවත් සරල උදාහරණ අරගෙන දිගින් දිගටම මේ පැහැදිලි කිරීම කරගෙන යනවා.

**ශ්‍රාවකඃ** එදා බුදු රජාණන් වහන්සේ ගත්ත උදාහරණත් අරගෙනම තේරුම් කරල දුන්නොත් ප්‍රඥාව තියෙන කවුරු කවුරුත් හොඳින් තේරුම් ගනීවි.

**දේශකඃ** මුලින්ම උන්වහන්සේ උදාහරණයට ගත්තෙ තමන් වහන්සේ සිද්ධාර්ථ කුමාරයා විදිහට හිටපු ගිහි කාලයේ මාලිගා තුනක ඉඳගෙන සැප විඳපු හැටි.

**ශ්‍රාවකඃ** ඔය කියන්නෙ අර රම්‍ය, සුරම්‍ය, සුභ කියල සුද්ධෝදන රජතුමා එදා සිද්ධාර්ථ කුමාරයට හදල දීපු මාලිගා තුන ගැන නේද ?

**දේශකඃ** ඔව්. වසින කාලයට ඉන්න හදල දීපු මාලිගාවෙ ඉඳගෙන මුළු වැහි කාලයම බිමටවත් බහින්නෙ නැතිව උපරිම වශයෙන් පංච කාම සම්පත් වින්ද බවත්, නමුත් දැන් කාමයන්ගේ ආස්වාදයත් ආදීනවයත් නිස්සරණයත් ප්‍රඥාවෙන් දැනගෙන, ඉතාමත් සන්සුන්ව කාමයන්ගෙන් මිදිල වාසය කරන බවත් දේශනා කරනවා. ඒ විතරක් නෙවෙයි, දැන් අනිකුත් අය පංච කාමයන් භුක්ති විඳිනව දකින බවත්, ඒත් ඒ කිසිවක් සම්බන්ධයෙන් කිසිම කැමැත්තක් ඇති නොවන බවත් ඉතාමත් සන්සුන්ව සුවයෙන් වාසය කරන බවත් පෙන්වල දෙනවා.

**ශ්‍රාවකඃ** අපිට නම් ඉතින් ඕව බල බල ඉන්න අමාරුයි නේද? එතකොට අපිටත් ඉතින් ඒව පස්සෙ යන්න හිතෙනවා. මේ මිනිස්සු රූපවාහිනියටයි, චිත්‍රපටි බලන්නයි, නැටුම් ගැයුම්වලටයි මෙච්චර ආස වෙලා තියෙන්නෙ, ඒව බලන්න බලන්න ඒවට තියෙන ආසාව වැඩිවෙන නිසා නේද ?

**දේශකඃ** ඔව් ඒක ඇත්ත. ඔය කාරණාව ගැනම බුදු රජාණන් වහන්සේ මේ සූත්‍රයේදි දේශනා කරලත් තියෙනවා.

**ශ්‍රාවකඃ** පුදුම වැඩේ කියන්නෙ, කොච්චර බැලුවත් ඇතිවීමක් වෙන්නෙ නැති එකනේ.

**දේශකඃ** ඔව්. තවමත් බුදු රජාණන් වහන්සේ දේශනා කරන ලද ශ්‍රී සද්ධර්මය අනුව, මේ ලෝකයේ සත්‍යය දැක්කෙ නැති අශ්‍රැතවත් පෘතජ්ජන කියන තත්ත්වයේ ඉන්න හැමෝටම එහෙම තමයි. ඇසෙන් රූප පස්සෙ යනවා, කනෙන් ශබ්ද පස්සෙ යනවා, නාසයෙන් සුවඳ පස්සෙ යනවා, දිවෙන් රස පස්සෙ යනවා, කයෙන් පහස පස්සෙ යනවා. මේ විදිහට පංච කාමයන් භුක්ති විඳින්න ලෝකයේ ජීවත් වෙනව ඇරෙන්න වෙන වැඩක් ඒ අයට නෑ.

**ශ්‍රාවකඃ** ඒ හැමෝම ඉතින් මේ ලෝකයේ ආස්වාදය, ආදීනවය, නිස්සරණය කියන්නෙ මොකක්ද කියල දන්නෙත් නෑ. නොදන්නකමට පංච කාමය පස්සෙම ගිහින් අපරාදෙ නිකම්ම අපාගත වෙලා කල්ප ගානක් දුක් විඳින තිරිසන් සතෙක්, නිරි සතෙක් බවට පත්වෙන එක තමයි අන්තිමට වෙන්නෙ.

**දේශකඃ** ඔව් ඒක තමයි අද ලංකාවෙ ඉන්න සම්මත බොහෝ බෞද්ධයන්ට වෙලා තියෙන්නෙ. මොකද ඒ අය බුදු රජාණන් වහන්සේ දේශනා කරන ලද ශ්‍රී සද්ධර්මය ගැන දන්නෙ නෑ. ආස්වාදය, ආදීනවය, නිස්සරණය පිළිබඳව තියෙන

සියලු දේශනා පැත්තකින් තියල වන්දනා කිරීම්, දන් දීම්, වෙහෙර විහාර සංවර්ධනය කිරීම් කරන්න විතරක් ධර්මය යොදා ගන්නවා.

**ශ්‍රාවක:** ඇත්තටම ඔය වන්දනා කරන



එකෙනුයි, දන් දෙන එකෙනුයි, වෙහෙර විහාර සංවර්ධනය කරන එකෙනුයි වැඩක් වෙන්නෙම නැත්ද ?

**දේශක:** අනිවාර්යෙන්ම වැඩක් වෙනවා. ඒකෙන් සිද්ධ වෙන වැඩේ තමයි මේ ශ්‍රී සද්ධර්මයත්, බුද්ධ සාසනයත් තවත් බොහෝ කාලයකට ආරක්ෂා වෙලා පැවතීම, ඒ වගේම තවත් බොහෝ පිරිසකට සාසනයේ සෙවණ ලබා ගන්න ඉඩකඩ ලැබීම. ඒකෙන් තමයි මුල පටන් ගන්නෙ. හැබැයි ඉතින් හොඳින් කල්පනා කරල බලල මට උත්තර දෙන්න, බුදු රජාණන් වහන්සේගේ දේශනාව අනුව සාසනයේ මගඵල ලාභීන් බිහි වෙන්නෙ නැත්නම්, සාසනය තවත් බොහෝ කාලයක් පැවැත් විය යුතු අරමුණ ඉෂ්ට වෙනවද කියල.

**ශ්‍රාවක:** එක් කෙනෙක්වත් සතර අපායෙන් බේරගන්න බැරි නම් ඉතින් මේ සම්බුද්ධ සාසනය පවත්වා ගැනීමේ මුල්ම අරමුණ පැත්තකට යනවා. එතකොට පින් කරගන්න අයට විතරක් තමයි මේ සාසනය ඉතුරු වෙන්නෙ. පංච කාම ආස්වාදය කියල අපි මේ විඳින්නෙ මුළා සැපයක් බව බුදු රජාණන් වහන්සේගේ දේශනා අනුව නිවැරදිව වටහා නොගැනීම නිසා නේද මේ විදිහට වෙන වෙන දේවල් කරල කාලය නාස්ති කරගෙන සසර දික් කරගන්නෙ ?

**දේශක:** ඔව්. ඒ නිසාම තමයි එදා මාගන්ඩිය බමුණාටත් උදාහරණ සහිතව විස්තර කරලත් මේ මුළාව මුලින් වටහාගන්න බැරි වුනේ. පංච කාමයේ ආදීනව නොදැන ඒවා ඇසුරු කරන්නෙ රෝගී කරගත් ඉන්ද්‍රියන් නිසා බව පෙන්වා දෙන බුදු රජාණන් වහන්සේ දේශනා කරන ලද ගාථාවක් වැරදියට තමයි මාගන්ඩිය බමුණා තේරුම් අරගෙන හිටියෙ. ඒ වෙනකොටත් ඒ ගාථාවම මාගන්ඩිය බමුණගෙ ගුරුවරු ඔහුට කියල දීල තිබුනෙ. ඒ නිසා ඒ ගාථාව අහපු ගමන් ඔහු කියනවා, මමත් ඔය ගාථාව දන්නව කියල.

**ශ්‍රාවක:** මොකක්ද ඒ වරද්ද ගත්ත ගාථාව ? අනිත් එක බුදු රජාණන් වහන්සේ දේශනා කරන ලද ගාථාවක් මාගන්ඩිය බමුණගෙ ගුරුවරු දන්නෙ කොහොමද ?

**දේශක:** ඒක තමයි,

ආරෝග්‍යා පරමා ලාභා
නිබ්බානං පරමං සුඛං
අට්ඨංගිකෝච මග්ගානං
ඛේමං අමත ගාමිනං

කියල දේශනා කරල තියෙන්නෙ.

**ශ්‍රාවක:** අපි හැමෝම දන්න එකක් නේද ඔය ගාථාවෙන් කියවෙන්නෙ. ඒ කියන්නෙ, අපිට නිරෝගීව ඉන්න තියෙනව නම්, ඊට වඩා තවත් ලොකු ලාභයක් නෑ කියන එකනෙ. මොකද කොච්චර සැප සම්පත් තිබුනත් වැඩක් නෑ, ඒවා විඳින්න නිරෝගිකමත් අනිවාර්යෙන්ම තියෙන්න ඕනනෙ. හැබැයි නිවන නමැති පරම සුවය ලබන්න නම් ඒ ආර්ය අෂ්ඨාංගික මාර්ගය අනුගමනය කරන්න ඕන නේද ?

**දේශක:** ඔය වගේ කතාවක් තමයි එදා මාගන්ඩිය බමුණත් කිව්වෙ. ඔය ගාථාව මීට පෙර වැඩ හිටිය කාශ්‍යප බුදු රජාණන් වහන්සේ දේශනා කරපු ගාථාවක්. ඒක ඒ කාලය වෙනකොට පෘතජ්ජනීකරණය වෙලා බමුණන්ගෙ වේද ග්‍රන්ථවලටත් ඇතුල් කරගෙන තමයි තිබිල තියෙන්නෙ.

**ශ්‍රාවක:** ඒකෙන් වටිනා උපදේශයක් දෙන නිසානෙ ඒ අයගෙ පොත්පත්වලටත් ඔය ගාථාව ඇතුලත් කරගෙන තියෙන්නෙ. ඉතින් ඒකෙ ඇති වැරැද්ද මොකක්ද ?

**දේශක:** නෑ. ඒකෙ කිසිම වැරැද්දක් නෑ. නමුත් අර්ථ තේරුම් අරගෙන තිබුන විදිහ තමයි වැරදිලා තිබුනෙ. මොකද ඒ වෙනකොට ඔය ගාථාව තිබුනෙ පෘතජ්ජනයන් ළඟ. එතකොට ඒ අය ආර්ය අර්ථ දැනගන්න විදිහක් නෑ.

**ශ්‍රාවක:** මොකක්ද ඇත්තටම ඔය ගාථාවෙ තියෙන ආර්ය අර්ථය ?

**දේශක:** තව ටිකක් මේ ගැන විස්තර කරනකොට ඔබටම මේ ආර්ය අර්ථය වැටහේවි. ඔය ගාථාවෙ තේරුම දන්නව කියපු මාගන්ඩිය බමුණගෙන් බුදු රජාණන් වහන්සේ නැවත ප්‍රශ්නයක් අහනවා, මොකක්ද ආරෝග්‍යය කියන්නෙ, මොකක්ද නිවන කියන්නෙ කියල. එතකොට ඔහු උත්තර දෙන්නෙ ඔහුගෙම ඇඟපත හොඳට අතගාල පෙන්වල ඉවර වෙලා. මේ බලන්න මට දැන් කිසිම ලෙඩක් නෑ, මම දැන් නිරෝගිව ඉන්නෙ, මේක තමයි මගේ නිවන කියල හරි උජාරුවෙන් උත්තර දෙනවා.

**ශ්‍රාවක:** ඔහු නිරෝගීව ඉන්න එක නිවන් ගියා වගේ කියලද කියන්නෙ? එහෙමනම් ඔහු මුකුත්ම නිවන ගැන දන්නෙ නෑ වගේ.

**දේශක:** නිවන ගැන විතරක් නෙවෙයි, ආරෝග්‍යය ගැනත් ඔහු මුකුත්ම දන්නෙ නෑ. ඒ විතරක් නෙවෙයි, බුදු රජාණන් වහන්සේ දේශනා කරනවා, මේ ගාථාවෙ නියම අර්ථය වටහා ගන්න අවශ්‍ය වෙන ආර්ය ඇස ඔහුට නැති බවත්, ඒ නිසාම මේ ලෙඩ වෙන කුණු වෙන ශරීරයේ නිරෝගිකම ආරෝග්‍යය හැටියටත් නිවන හැටියටත් හිතාගෙන රැවටිලා

ඉන්නව කියලත්.

**ශ්‍රාවකඃ** එතකොට ඔය ගාථාවෙ තියෙන ආරෝග්‍යය ඇගේපතේ නිරෝගිකම කියල හිතාගෙන ඉන්න අපිත් රැවටිලාද ඉන්නෙ ?

**දේශකඃ** ඔව්. ලංකාවෙ ඉන්න අති බහුතරයක් සම්මත බෞද්ධයන් රැවටිලා තමයි ඉන්නෙ.

**ශ්‍රාවකඃ** එතකොට ඔය ගාථාවෙ නියම අර්ථය දකින්න පුළුවන් ආර්ය ඇසක් අපි කාටවත් නැත්ද ?

**දේශකඃ** දැන් නම් ඒ වගේ ආර්ය ඇස තියෙන උත්තමයන් ඉන්නවා. හැබැයි ඉතින් කලින් නම් හිටියෙ නෑ කියල තමයි මට නම් හිතෙන්නෙ. ඒ නිසා තමයි අපේ අති බහුතරයක් සම්මත බෞද්ධයින්ටත් තාම ඔය ආර්ය ඇස ලැබිල නැත්තෙ.

**ශ්‍රාවකඃ** කාටහරි ඔය ආර්ය ඇස ලබාග න්න නම් මොනවද කරන්න ඕන?

**දේශකඃ** ඔය ප්‍රශ්නෙට උත්තරය එදා බුදු රජාණන් වහන්සේ මාගන්දිය බමුණටත් කියල දුන්නා. මෙච්චරයි කරන්න තියෙන්නෙ.

සත් පුරුෂයෙක් හොයාගන්න.
ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය කරන්න.
ඒ ධර්මය යෝනිසෝ මනසිකාරයට නගාගන්න.
ධම්මානුධම්ම ප්‍රතිපදාවට ඇතුල් වෙන්න.

මේ අංග හතර සම්පූර්ණ කරගන්නෙ නැතිව කාටවත් ආර්ය ඇස ලබාගන්න පුළුවන්කමක් නෑ. ඒ බව ත්‍රිපිටකයේ බොහෝ තැන්වල ඉතා පැහැදිලිව සටහන් වෙලා තියෙනවා.

**ශ්‍රාවකඃ** ඔය ආකාරයට ඒ අවස්ථාව සලසල දෙන්න නේද අපේ ධර්ම සාකච්ඡා සංවිධානය කරල තියෙන්නෙ ? ඒ නිසා තවත් ප්‍රමාද නොවී ආර්ය ඇස ලබා ගන්න අවශ්‍ය අය මේ ධර්ම සාකච්ඡාවලට සම්බන්ධ වෙලා ශ්‍රී සද්ධර්මය නිවැරදිව ශ්‍රවණය කරගන්න එක තමයි කරන්න තියෙන්නෙ.

**දේශකඃ** ඔව්. අනිවාර්යෙන්ම ඒක කළ යුතුයි. එහෙම නැතිව ධර්මාවබෝධය ලබාගන්න පුළුවන් ක්‍රමවේදයක් ගැන ත්‍රිපිටකයේ නම් සඳහන් වෙන්නෙ නෑ. මේ වගේ ලිපියක් කියවීමෙන් නිවැරදි දහම පිළිබඳ දැනුවත් වීමක් තමයි සිද්ධ වෙන්නෙ. අවසානයෙදි මේ දැනුමත් අවබෝධයටම උපනිශ්‍රය වෙනවා.

**ශ්‍රාවකඃ** එදා බුදු රජාණන් වහන්සේ මාගන්දිය බමුණට උදාහරණ සහිතව කියල දීපු ක්‍රමවේදය, මේ ලෝකයේ සත්‍ය තත්ත්වය අවබෝධ කරගන්න පුළුවන් තවත් එක ක්‍රමයක් බව මුලින්ම කිව්වනේ. දැන් ඒ ක්‍රමය මොකක්ද කියල පැහැදිලි කළොත් හොඳයි නේද ?

**දේශකඃ** ඔව්. ඒ ක්‍රමය තමයි, පංච කාමයෙන් ලැබෙන ආස්වාදය මුළාවක් බව වටහා දීම. ඒ වගේම ඒක බාහිරව තියෙන කාම වස්තුවකින් ලැබෙන එකක් නොවන බව තහවුරු කරල දීම. ඒ වගේම ආදීනවය වටහාගෙන තමන්ටම මුළාවෙන් මිදෙන්න ක්‍රමවේදයක් ඇති බව පෙන්වාදීම. මේ සියල්ල මාගන්දිය බමුණට තේරුම් කරල දුන්න ආකාරය පියවරෙන් පියවර වටහාගන්න උත්සාහ කරමු.

**ශ්‍රාවකඃ** එතනදි බුදු රජාණන් වහන්සේ කාමයන්ගේ ආස්වාදයත්, ආදීනවයත්, නිස්සරණයත් තතු සේ දැනගෙන කාමයන්ගෙන් මිදිල සන්සුන්ව වාසය කරන හැටි දේශනා කළානෙ. ඒ කාරණය මාගන්දිය බමුණට තේරුම් කරල දුන්නෙ කොහොමද ?

**දේශකඃ** ඔව්. ඒ ආකාරයට පංච කාමයෙන් මිදෙන ක්‍රමය කියල දෙන්න උදාහරණයක් විදිහට කුෂ්ට රෝගියෙක්ව ගන්නවා. සමේ දරුණු කුෂ්ටයක් නිසා වේදනාවෙන් පීඩා විඳිමින් ඉන්න රෝගියෙක්ව බලාගන්න ඉන්න කෙනෙක්, ඒ කුෂ්ටය සහිත ප්‍රදේශය තද රස්නයක් ඇති උණු අළු පොට්ටනියකින් තැව්වොත්, රෝගියාට කොහොම දැනීමක් ඇතිවෙයිද කියල අහනවා.

**ශ්‍රාවකඃ** එහෙම තවනව නම් ඉතින් හරිම සනීපයක් තමයි දැනෙන්නෙ. ඒ නිසා තව තවත් තවන්න කියලත් කියයි. මොකද වේදනාවක් විඳින කෙනා ටික වෙලාවකට හෝ සුවයක් විඳගන්න කැමතියිනෙ.

**දේශකඃ** ඔව්. ඔය උත්තරයම තමයි මාගන්දිය බමුණත් දුන්නෙ. ඊට පස්සෙ බුදු රජාණන් වහන්සේ නැවතත් ප්‍රශ්න කරනවා, යම් කිසි විදිහකින් බෙහෙත් කරල කුෂ්ටය සම්පූර්ණයෙන්ම සුව කරගත්තට පස්සෙ, ඒ ප්‍රදේශය කලින් වගේම තද රස්නයක් සහිත උණු අළු පොට්ටනියකින් තැව්වොත් කොහොම දැනෙයිද කියල.

**ශ්‍රාවකඃ** හොඳට තියෙන සමකට ගිනි රස්නයෙන් තැව්වොත් පිච්චෙනව කියල තමයි දැනෙන්නෙ. සනීපයක් නම් දැනෙන්නෙ නෑ. ඒ වගේ පිච්චෙන උණු අළු පොට්ටනියකින් තවන්න ඉඩ දෙන එකකුත් නෑ.

**දේශකඃ** හරි. දැන් ඊළඟට අහනවා, ඔය උණු අළු පොට්ටනියකට පිච්චෙන්නෙ දැන් විතරද, අර කුෂ්ටය තියෙනකොට තවපු වෙලාවෙ පිච්චුනේ නැත්ද කියල.

**ශ්‍රාවකඃ** ඒ වෙලාවෙ මහා රිදුම් දෙන කුෂ්ටයක් තියෙනවනෙ. තද රස්නය නිසා හම ටිකක් පිච්චෙනවත් ඇති. හැබැයි දැනෙන්නෙ නම් සැපයි කියල තමයි.

**දේශකඃ** දැන් ටිකක් ගැඹුරින් හිතල බලන්න, එහෙම වුනේ කොහොමද කියල.

**ශ්‍රාවකඃ** කුෂ්ටය නිසා එතන සම හොඳටම විකෘති තත්ත්වයකට පත් වෙලා තියෙන්නෙ. ඒ නිසා එතනදි සාමාන්‍ය සමක් වගේ නෙවෙයි දැනෙන්නෙ. ඒ නිසා ඇත්තටම පිච්චුනත් දැනෙන්නෙ සැපයි කියලම තමයි.

**දේශකඃ** හරියටම හරි. ඔය ප්‍රායෝගික අත්දැකීම අපි හැමෝටම ලබාගන්න පුළුවන් එකක්, අපි දන්න එකක්, අපිට හොඳට තේරෙන එකක්, අපිට හොඳින් අවබෝධ කරගන්න පුළුවන් එකක්. මෙතනදි කුෂ්ටය නිසා හමේ සාමාන්‍ය තත්ත්වය විකෘති වෙලයි තිබුනෙ. ඒ නිසා තමයි විපරීත සංඥාවකින් ඇත්තටම පිච්චෙන එක සනීපයක් විදිහට දැනුම් දුන්නෙ. තවත් සරලව කියනව නම්, ඇත්තටම දුක් වේදනාවක්, මේ ඉන්ද්‍රිය විකෘති වීම නිසා රැවටීමකට හසු වෙලා සැප විඳීමක් විදිහට බාර ගැනීමක් තමයි අපි කවුරුත් කරල තියෙන්නෙ.

**ශ්‍රාවකඃ** මේ ආකාරයට අපි සාමාන්‍ය ජීවිතයෙදි මුළාවට පත් වෙලා දුක් විඳ ගැනීමක් සැපක් බවට හරවගන්න එක පංච කාමයට සම්බන්ධ කරල තියෙන්නෙ කොහොමද?

**දේශකඃ** ඒ කොටස තමයි අපි හැමෝම හොඳින්ම කල්පනා කරල තේරුම් ගන්න ඕන වෙන්නෙ.

පංච කාමයෙන් සැප විඳින්න කැමතියි. සටහන බලල උත්සාහ කරන්න.




අපි ඒ සඳහා දැඩි ඕනකමක් ඇති කරගන්නවා. ඒ තත්ත්වයට කියන්නෙ කාම දාහය කියල. මේ ආකාරයට අපි ඒකට ඇති දැඩි කැමැත්ත නිසා කාම දාහයෙන් දැවෙන්න පටන් ගන්නවා. මේ කාම දාහයෙන් අපේ ඉන්ද්‍රියන් විකෘති වෙනවා. ඉන්ද්‍රියන් කිව්වට ඇත්ත වශයෙන්ම මනස තමයි විකෘති වෙන්නෙ. ඊට පස්සෙ ඒ විකෘති කටයුතුවලට ඉන්ද්‍රියන් යොදවනවා. අර උදාහරණයේ පෙන්වා දුන්න ආකාරයට කුෂ්ටයෙන් හම විකෘති වුනා වගේම වැඩක් මෙතනදිත් සිද්ධ වෙනවා. කාම දාහය නිසා විකෘති වෙන්නෙ අපේ ඇස, කන, නාසය... ආදී ඉන්ද්‍රියන් 6. මේ ආකාරයට අපි විකෘති කරගත්ත ඉන්ද්‍රියන්වලට තමයි දැන් රූප, ශබ්ද, ගන්ධ... ආදිය ස්පර්ශ වෙන්නෙ. හරියට අර කුෂ්ටයට ගිනි රස්නය ඇති උණු අළු පොට්ටනිය ස්පර්ශ වුනා වගේ.

ඇත්තටම රූප, ශබ්ද, ගන්ධ... ආදිය කෙරෙහි ඇති බලාපොරොත්තුව සහ ඒවා පසුපස හඹා යාම දුක් සහිත එකක් වුනත්, අපි කාම දාහයෙන් දැවෙන වෙලාවට ඒ ඒ ඉන්ද්‍රියන් විකෘති කරගෙන ඉන්න නිසා දැනෙන්නෙ සැප විඳීමක් විදිහටම තමයි. මෙන්න මේ ආකාරයට තමයි අපි කවුරු කවුරුත් පංච කාමයෙන් සැප විඳින්නෙ.

**ශ්‍රාවක:** මේ ආකාරයට උදාහරණත් එක්ක ගලපල බැලුවම තේරෙනවා මිසක්, පංච කාමයෙන් විඳින සැප විපරීත සංඥාවෙන් එන මුළා සැපක් බව අපිට වැටහෙන්නෙ නැත්තෙ ඇයි?

**දේශක:** ඒකට හේතුව අපි පංච කාම උගුලකට අහුවෙලා ඉඳීම. මුලින්ම මේක මර උගුලක් බව වටහා ගන්න අවශ්‍යයි. මේ ආකාරයට අපි හැමෝම උගුලක අහුවෙලා ඉන්න බව වටහා ගන්න, මේ පහතින් පෙන්වා දෙන මෙතනදි සිද්ධ වෙන්නෙ, පංච කාමයට ඇති කැමැත්ත වැඩිවෙනකොට මනස හරහා කාම දාහය වැඩි වෙන එක. කාම දාහය වැඩි වෙනකොට ඉන්ද්‍රියන් විකෘති වීම වැඩි වෙනවා. ඒ දාහය සමනය කරගන්න කාමය ඇසුර කරන්න සිද්ධ වෙනවා. ඒ කියන්නෙ සැප විඳින්න කියල රූප, ශබ්ද, ගන්ධ... පස්සෙ හඹාගෙන යන එක වැඩිවෙනවා. එතකොට විපරීත සංඥාවට රැවටිලා සුව විඳ ගැනීමත් වැඩි වෙනවා. මේ ආකාරයට රැවටීමක් බව නොදැන, පංච කාමයෙන් සුව විඳීම වැඩි වෙන්න වැඩි වෙන්න පංච කාමයට තියෙන කැමැත්තත් වැඩි වෙන එක තමයි සිද්ධ වෙන්නෙ. මේ චක්‍රයට කෙළවරක් නැති නිසා, පංච කාමයෙන් සුව බලාපොරොත්තු වීමේ උගුලකට අපිව අහුවෙනවා. ඒ උගුලෙ ඉන්න අපි මුළා සුවය බලාපොරොත්තුවෙන්, ඕනෑම දුකක් විඳගෙන දිවා රාත්‍රී නොබලා මහා දුක් ගිනි කන්දක් විඳිමින් රූප, ශබ්ද... ආදිය පසුපස හඹා යාම අඛණ්ඩව සිද්ධ කරනවා. අපි කවුරුත් නොදන්නවා වුනාට, අනන්ත සංසාර ගමනකට කොටුවෙලා කවදාවත් පූර්ණ නොවන / නොපිරෙන මුළා සැපයක් පසුපස හඹාගෙන යාමෙන් මේ බියකරු සසරේ අතරමං වෙන එක තමයි අන්තිමට සිද්ධ වෙලා තියෙන්නෙ.

**ශ්‍රාවක:** මේ වගේ උගුලක අහුවෙලා ඉන්න බව, ඒ කියන්නෙ අපි මේ පංච කාම සැප කියල රැවටිලා ඉන්නෙ අපිම විකෘති කරගත් අපේම ඉන්ද්‍රියන් හරහා ලැබෙන විපරීත සංඥාවක් නිසා බව මේ ආකාරයට පෙන්වා දෙන කල්ම අපිට තේරෙන්නෙ නැත්තෙ ඇයි ?

**දේශක:** ඒ නිසානෙ බුදු රජාණන් වහන්සේ දේශනා කරන්නෙ, මින් පෙර නොඇසූ ධර්මයක් කියල. ලොව්තුරා බුදු රජාණන් වහන්සේ නමක් පහළ වෙලා මේ තත්ත්වය පෙන්වල දෙනකල් කාවටත් මේක තනියෙන් තේරුම් ගන්න පුළුවන් වෙන්නෙ නෑ.

**ශ්‍රාවක:** දැන් මේ රූප, ශබ්ද, ගන්ධ... ආදිය ඇසුරු කරන්න ඇසුරු කරන්න තව තවත් මේ භයානක උගුලටම කොටුවෙනව මිසක් ගැලවීමක් නම් ලැබෙන්නෙ නෑ. දැන් අපි මේකෙන් ගැලවෙන්නෙ කොහොමද ?

**දේශක:** ඒ ගැලවෙන ක්‍රමයත් බුදු රජාණන් වහන්සේ පෙන්වල දෙනවා. ඒ සඳහා උදාහරණයට ගන්නෙ අර කුෂ්ටය හැදිච්ච මනුස්සයාවම තමයි. හිතන්න අර කුෂ්ටය හැදිච්ච මනුස්සයා බෙහෙත් අරගෙන ඒ කුෂ්ටය සම්පූර්ණයෙන්ම හොඳ කරගත්ත කියල. ඊට පස්සෙ ඔහු නිදහසේ පාරෙ යනකොට දකිනවා, ඔහුට තිබුන වගේම කුෂ්ටයක් හැදිල දැඩි වේදනාව නිසා ඒක සමනය කරගන්න උණු අළු පොට්ටනියකින් තව තවා ඉන්න කෙනෙක්. දැන් කුෂ්ටෙ හැදිල හොඳ වෙලා ඉන්න කෙනා අර ගිනි රස්නෙ ඇති උණු අළු පොට්ටනියෙන් තවාගන්න කැමති වෙයිද ? එහෙම තවාගෙන, හරි සැපයි හරි සැපයි කියන්න කැමති වෙයිද ?

**ශ්‍රාවක:** අපොයි නෑ. ඔහු හොඳටම දන්නවනෙ, කුෂ්ටය හැදිල ඉන්නකොට වින්ද වදේ. කුෂ්ටයක් නැතිකොට මොකටද උණු අළු පොට්ටනිවලින් තවාගෙන පුච්ච ගන්නෙ. ඔහු ඉතින් දැන් කුෂ්ටෙට කැමතිත් නෑ, උණු අළු පොට්ටනියට කැමතිත් නෑ.

**දේශක:** අන්න ඒ වගෙ තමයි, කාමයට තියෙන කැමැත්ත සම්පූර්ණයෙන්ම නැති කරගෙන, කාම දාහය නමැති කුෂ්ටය සම්පූර්ණයෙන්ම හොඳ කරගත්ත කෙනෙකුට රූප, ශබ්ද, ගන්ධ... ආදිය ඇසුරු කරල මුළා සැප ලබාගන්න ඕනකමක් ඇතිවෙන්නෙ නෑ. හරියට කුෂ්ටය හොඳ වුනාට පස්සෙ තවාගන්න ඕන නෑ වගේ තමයි.

කාම දාහයක් නැති නිසා මනස / ඉන්ද්‍රියන් විකෘති වීමක් සිද්ධ වෙන්නෙත් නෑ. ඒ නිසා උත්සාහයෙන් වීරියෙන් කාමයන් පසුපස හඹා යාම නවත්ව ගන්න අවශ්‍ය නෑ. මොකද ඒ වගේ අයට ඒ සඳහා උවමනාවක් ස්වභාවයෙන්ම ඇතිවෙන්නෙ නෑ. නමුත් අපිට නම් කාමයන්ගෙන් මිදෙන්න උත්සාහ වීර්ය කරන්න වෙනවා. මොකද අපිට තවමත් අර කුෂ්ටයට ☞

උපමා කරපු කාම දාහය නමැති රෝගය තියෙනවා.

**ශ්‍රාවක:** දැන් තමයි මට හොඳටම වැටහුනේ. මම මේ රූප, ශබ්ද, ගන්ධ.. ආදිය පස්සෙ සැප විඳින්න කියල එළව එළවා යන්නෙ මට අර රෝගය තියෙන නිසා. මම ඒවා තව තවත් ඇසුරු කරන්න ඇසුරු කරන්න, මගේ රෝගය තමයි තව තවත් වැඩිවෙන්නෙ. රෝගය වැඩිවෙන්න වැඩිවෙන්න, ඒක සමනය කරගන්න තව තවත් රූප, ශබ්ද... ආදිය ඇසුරු කරන්න සිද්ධ වෙනවා. හරියට අර කුෂ්ටය තියෙන කොට උණු අළු පොට්ටනියෙන් තවන්න අවශ්‍ය වෙනව වගේ. මේ උගුලෙන් ගැලවෙන්න නම්, කාමයට තියෙන කැමැත්ත අඩු කරගන්නම වෙනවා. ටිකෙන් ටික හරි ආදීනව දැකීම තුලින් කාමයට තියෙන කැමැත්ත අඩු කරගත්තොත් රෝගය හොඳ කරගන්න පටන් ගන්න පුළුවන්. එතකොට දන්නෙම නැතිව රූප, ශබ්ද... ආදිය පස්සෙ යන්න තියෙන ඕනකමත් ටික ටික අඩුවෙලා යයි.

**දේශක :-** හරියටම හරි. ඔබ නිවැරදිව ප්‍රඥාවෙන් මේ සිද්ධිය තේරුම් අරගෙන තියෙනවා. ඔය රෝගය හොඳ කර ගත්ත කියන්නෙ, යළි යළිත් රූප පසුපස හඹාගෙන යන්න අවශ්‍යතාවයක් නෑ කියන එක. ඒ තත්ත්වයට තමයි රාගක්ඛය කියල කියන්නෙ. එතකොට රාගය නිසා පහත් තත්ත්වයකට ඇද වැටෙන්නෙ නෑ. ඔබ ඇලිල ඉන්න යමකට විරුද්ධව යමක් ඇති වුනොත් තමයි ද්වේශයක් නැගෙන්නෙ. රාගක්ඛය වෙලා තියේ නම් ද්වේශයක් නැගෙන්නෙත් නෑ. රාගය, ද්වේශය නැති තැන මෝහයත් නෑ.

**ශ්‍රාවක:** අන්තිමට නිවන් දකින තැනටම නේද ඇවිත් ඉන්නෙ. අපිට කරන්න තියෙන්නෙ කාම දාහයෙන් මේ මනස ඇතුළු ඉන්ද්‍රියන් විකෘති කරගන්නව කියන එක අවබෝධ කරගැනීම. මේ ආකාරයට යම් කෙනෙක් තමන්ගෙම ඉන්ද්‍රියන් පංච කාම ආස්වාදයට තියෙන කැමැත්ත නිසා විකෘති කරගෙන ඉන්න බව වටහාගෙන ඉන්නව නම්, ඊළඟට මොකක්ද කළ යුතුව තියෙන්නෙ ?

**දේශක:** තමන් හදාගෙන තියෙන මේ රෝගය, ආරෝග්‍ය හෙවත් හොඳ කරගන්න උත්සාහ කරන එක තමයි කරන්න තියෙන්නෙ. මේ මුළා ආස්වාදය පසුපස යන්න තියෙන කැමැත්ත, ආදීනවය දැක ගැනීම තුලින් ටික ටික හරි අඩු කරගන්න එක තමයි කළ යුතුම වෙන්නෙ.

**ශ්‍රාවක:** මෙතනදි මුළා ආස්වාදයක් කියල කිව්වෙ, ඇත්තටම ඉන්ද්‍රියන් විකෘති කර ගැනීම නිසා හදාගත්ත රෝගය තාවකාලිකව සමනය වීම නිසා ලැබෙන සුවය නේද ?

**දේශක:** ඔව්. ඒකත් ඔය විදිහට මුළාවටම අයිති එකක් තමයි. හැබැයි ඒ විතරක් නෙවෙයි, මේ විදිහට ලැබෙන කාම ආස්වාදයේ මහා බරපතල ආදීනවයක් තියෙනවා. ඒකත් හැමෝම දන්න එකක් නෙවෙයි. ඒ නොදැනීම තමයි ලොකුම මුළාව. කාමයේ ආදීනවය තමයි අනිච්ච, දුක්ඛ, අනත්ත කියල විග්‍රහ කරල තියෙන්නෙ. දැන් අපි පංච කාමයෙන් සැප විඳිනව කියල හිතාගෙන හිටියට, එතනදි ඇත්තටම වෙලා තියෙන දේ ඔබ දැන් හොඳින් වටහා ගත්තනේ. එතනදි ඔබේ කැමැත්ත ඉෂ්ට වීමක් සිද්ධ වුනේ නෑ. ඔබ කැමති විදිහට සිද්ධ වුනේ නෑ. ඔබ හිතාගෙන හිටියට රූප ඇසුරු කරල සැප විඳිනව කියල, ඇත්තටම සිද්ධ වුනේ වෙන එකක්. රූප ඇසුරු කරල සැප විඳ ගන්නව කියන එක කවදාවත්ම පූර්ණ කරගන්න පුළුවන් එකක් නෙවෙයි. කවදාවත් පූර්ණ කරගන්න බැරි දෙයක් වෙනුවෙන් වෙහෙසිලා මහා දාහයට පත්වෙනව මිසක් කිසිම හරයක් ලැබෙන්නෙ නෑ. මේ තත්ත්වය තමයි අනිච්ච කියල විග්‍රහ කරල තියෙන්නෙ.

මේ ආකාරයට රූපයක් ඇසුරු නොකර මේ මුළා සැපය ලබා ගන්නත් බෑ. ඒ වගේම රූපයෙන් නෙවෙයි ඒ සැපය ලැබුනෙ. රූපයට ඇති කැමැත්ත නිසා කාම දාහයක් හදාගෙන විකෘති කරගත්ත ඉන්ද්‍රියන්වලට රූප ඇසුර ලැබීම නිසා හටගත්ත විපරීත සංඥාවකින් තමයි ඔය මුළා සැපය වටහා ගත්තෙ. ඔය ක්‍රමවේදය නිසා කාම දාහය සංසිඳවා ගන්න කොච්චර රූප ඇසුරු කළත්, මුළා සැපයට කොටු වීමක් මිසක් දාහය සංසිඳවීමක් වෙන්නෙ නෑ. ඇත්තටම වෙන්නෙ දාහය වැඩිවීමක් විතරයි. මෙන්න මේ ක්‍රියාදාමය තුලින් සැප විඳල ලෝකය සාරයි කියල රැවටිලා ඉන්න බව තේරුම් ගත්ත අයට හිතෙනව ලෝකය අසාරයි කියල.

**ශ්‍රාවක:** අනිච්ච කියන එක, කැමති විදිහට නෑ කියල විතරක් හිතාගෙන හරියන්නෙ නෑ වගේ. ඊට වඩා මහා ගැඹුරු අර්ථයක් මෙතන තියෙනවා. මම මෙච්චර කල් ලෝකෙ අනිච්චයි කියල හිතාගෙන හිටියෙ ගොඩක් සරල මට්ටමකින් කියලයි මට දැන් හිතෙන්නෙ.

**දේශක:** ඔබට එහෙම හිතෙන එකේ කිසිම වරදක් නෑ. හැම ආර්ය ශ්‍රාවකයෙකුටම එහෙම හිතන්න පුළුවන් වෙන්න ඕන. මොකද ඔය අනිච්ච කියන්නෙ කවදහරි රහත් ඵලය පූර්ණ කරන කල්ම වටහා ගැනීම දියුණු කරගෙන යා යුතු එකක්. මේ ආකාරයට රූප පසුපස යාම තුලින් පංච කාම ආස්වාද වැඩපිළිවෙලට කොටු වුනාට පස්සෙ, නිතරම කටයුතු කරන්න වෙන්නෙ ලෝභයෙන්, ද්වේශයෙන්, මෝහයෙන් තමයි. ඒ නිසා දස අකුසලයම වුනත් කරන්න පුළුවන්. ඒ නිසා මෙතනදි ඔබව මේ කොටු වෙලා තියෙන්නෙ සැපකට නෙවෙයි දුකකටමයි. ඒ නිසාම තමයි දුක්ඛයි කියල කිව්වෙ. අනිච්ච වූ වැඩ පිළිවෙලකින් ලැබෙන්නෙ දුකක්ම තමයි. මේ මුළා ආස්වාදයට කොටු වීම නිසා මහා ආදීනවයක් ලබාගෙන කිසිම හරයක් නැති, කාගෙවත් කිසිම හවුහරණක් ලබාගන්න බැරි අනාථ තත්ත්වයකට මේ ලෝක සත්ත්වයන්ට පත්වෙන්න සිද්ධ වෙනවා. ඒක තමයි අනත්තයි කියල කිව්වෙ.

**ශ්‍රාවක:** ඔය පැහැදිලි කරල දුන්නෙ කාමය විඳින්න ගිහින් තමන්ම හදා ගත්තු මේ රෝගය නිසා අනිච්ච වූ, දුක්ඛ වූ, අනත්ත වූ ලෝකයට යට වෙලා නිමාවක් නැති මහා දුක්ඛිත අනන්ත සසර ගමනකට කොටුවෙනව කියන එකම නේද ?

**දේශක:** හරියටම හරි. ඔය විදිහට තේරුම් ගත්තට පස්සෙ තමයි ඔය රෝගය හොඳ කරගන්න අවශ්‍ය වෙන්නෙ. එතකොට එහෙම අය පංච කාමයට තියෙන කැමැත්ත, ආදීනවය මෙනෙහි කිරීම තුලින් අඩු කරගන්න පටන් ගන්නවා. එතකොට වෙන දේත් කලින් වගේම සටහනකින් පෙන්වා දෙන්න පුළුවන්.

පංච කාමයට ඇති කැමැත්ත අඩු වෙනකොට දාහය අඩුවෙනවා. දාහය අඩු වෙනකොට විකෘතිය අඩුවෙනවා. දාහය සමනය කරගන්න කියල කාම සේවනය කරන එකත් අඩුවෙනවා. එතකොට විපරීත සංඥාවට රැවටිලා සුව විඳින එක අඩුවෙනවා. එතකොට කාමයට තියෙන කැමැත්ත තවත් අඩුවෙනවා. මේ ආකාරයට කාමයට තියෙන කැමැත්ත ටික ටික අඩුවෙලා ගිහින් අන්තිමට




මොකද වෙන්නෙ ?

**ශ්‍රාවකः** අඩුවෙලා අඩුවෙලා ගිහින් කවදාහරි දවසක නැත්තටම නැතිවෙලා යයි. ඒ කියන්නෙ කාම රාග, පටිඝ කියන සංයෝජන දෙකෙන්ම මිදිල ඉවරයි. එතකොට මේ නිවන් මගේ සෑහෙන දුරකට ගිහින් අන්තිමට රාගක්ඛයත්, ද්වේශක්ඛයත්, මෝහයක්ඛයත් වෙලා නිවන පූර්ණ කරගන්න පුළුවන් වේවි.

**දේශකः** ඔව්. දැන්නම් ඔබට අනිවාර්යෙන්ම වැටහෙනව ඇති, මෙච්චර කාලයක් වැරදියට වටහාගෙන හිටපු ආරෝග්‍යා පරමා ලාභා කියන ගාථාවෙ නියම අර්ථය.

**ශ්‍රාවකः** ඔව් මට හොඳට වැටහුනා. මම කියන්නම් හරිද බලන්න. එතකොට මේ කාම දාහය නිසා මනස / ඉන්ද්‍රියන් විකෘති කරගන්න එක තමයි බුදු රජාණන් වහන්සේ පෙන්වා දුන්න රෝගය. ඒ රෝගය ආරෝග්‍ය කරගත්තොත් තමයි මනුස්සයෙකුට ලබා ගන්න පුළුවන් ලොකුම ලාභය ලැබෙන්නෙ. ඒකට තමයි පරම ලාභය කියල කිව්වෙ.

**දේශකः** හරියටම හරි. මොකද ඔය රෝගය තියෙන තාක් කල් නිවන් සුවය ලැබෙන්නෙ නෑ. පංච කාම මුළා සැපයට කොටු වෙලා මහා දුක්ඛිත අනන්ත සසරක සැරිසරනවා.

**ශ්‍රාවකः** සත්‍යය දැකල ආදීනවය මෙනෙහි කරල, පංච කාමයට තියෙන කැමැත්ත අඩු කරගෙන ගිහින් කවදාහරි ඔය රෝගය හොඳ කරගත්තොත්, මුළා සැපයෙන් මිදිල නිවන නමැති පරම සුඛය ලබා ගන්න පුළුවන්. ඒ සඳහා අරි අටඟි මග අනුගමනය කරන්න ඕන කියන එක තමයි අන්තිමට කියල තියෙන්නෙ.

**දේශකः** හරියටම හරි. ඇඟේපතේ තියෙන ලෙඩ, ඒ කියන්නෙ කැස්ස, උණ, හෙම්බිරිස්සාව, ඩෙංගු වගේ ලෙඩ හඳාගන්නෙ නැතිව නිරෝගීව ඉන්න ලැබෙන එක ලොකුම ලාභයක් කියල එහෙම ඔය ගාථාවෙ කියවෙනවද?

**ශ්‍රාවකः** අනේ දෙයියනේ, අපි මෙච්චර කාලයක් හිතාගෙන ඉඳල තියෙන්නෙ මොකක්ද, බුදු රජාණන් වහන්සේ කියල දීල තියෙන්නෙ මොකක්ද කියල හරියටම තේරුම් ගත්තෙ අද තමයි. මට දැන් තේරෙනවා මේ ගාථාවෙ නිවැරදි අර්ථය වටහාගෙන නිවන් මගට යන්නෙ කොහොමද කියල. ඒ වුනත් මේ ක්‍රමවේදය තුලින් නිවන් මගට පිවිසෙන්න බලාපොරොත්තු වෙන කෙනෙක් ඒක කළ යුත්තෙ කොහොමද කියල, පියවරෙන් පියවර සරලව පැහැදිලි කරගෙනම අද සාකච්ඡාව අවසන් කරමු.

**දේශකः** බොහොම හොඳයි. දැන් ඒ සඳහා සත්පුරුෂ සේවනයත් අනිවාර්ය බව හැමෝම දන්නවනෙ. ඒ ආකාරයට සත්පුරුෂ සංසේවනයකින් මේ ගාථාවෙ ආර්ය අර්ථය පැහැදිලිව වටහගත්ත කෙනෙක් කටයුතු කළ යුතු ආකාරය ගැනත් ධර්මය අනුවම පැහැදිලි කිරීමක් කරන්නම්.

පළමුවෙන්ම තේරුම් ගන්න ඕන, තමන්ටත් මේ වගේම රෝගයක් හැදිල තියෙන බව. ඒ සඳහා තමන්ගෙම ප්‍රායෝගික ජීවිත අත්දැකීම් එක්ක ගලපල විමර්ශනයක් කරන්න අවශ්‍යයි. අපි එදිනෙදා ජීවිතයෙදි ඉඳුරන් පිනවන්න උපකාර කරගන්න රූප, ශබ්ද, ගන්ධ... ආදියත් සමග ඇසුරු කරන හැම අවස්ථාවකදීම ඔය කියන රෝගය හඳාගන්නෙ නෑ. ඒ සඳහාම යොමු වුනාම තමයි රෝගය හඳාගන්නෙ. කාමයන් සඳහා උවමනාවක් ඇති වෙච්ච අවස්ථාවලදි තමයි ඒවත් එක්ක කාමුකව හැසිරිලා මේ පෙන්වා දීපු ආකාරයට මුළා ආස්වාදය ලබාගන්නෙ. මේ තත්ත්වය ගැන හොඳින් විමර්ශනය කළොත්, තමන් තමන්ගෙම ඉන්ද්‍රියන් රෝගී කරගෙන කටයුතු කරන ආකාරය අත්දකින්න පුළුවන්. ඒ රෝගී තත්ත්වය වටහා ගත්ත අයට ඒ තත්ත්වය සමනය කරගන්න ගමන් රූප, ශබ්ද... ආදිය ඇසුරු කරන්න ගිහින් සිද්ධ වෙන වෙහෙස මහන්සිය ඇතුළු ආදීනව බොහොමයක් හඳුන ගන්නත් පුළුවන් වෙනවා.

පංච කාමය පසුපස අධික ලෙස හඹා යන්න ගිහින් මෙලොව වශයෙන් සිද්ධ කරගන්න වෙහෙස මහන්සියත්, ඒකෙ ආදීනවයත් අපි අත් දැකල තියෙනවා. ඒ සඳහා මනුස්ස ඝාතන පවා කරපු අවස්ථා ගැන අපි අහල තියෙනවා. පරලෝ වශයෙන් එන මහා විනාසය බුදු රජාණන් වහන්සේගෙ දේශනාවලින් අපිට අනුමාන ඥානයකින් වටහගන්නත් බැරිකමක් නෑ. මේ ආකාරයට ආදීනවය නිතර නිතර මෙනෙහි කරනව නම්, නිරායාසයෙන්ම පංච කාමයට ඇති කැමැත්ත අඩු වෙන්න පටන් ගන්නවා. මෙහෙම විමර්ශනය කිරීමකින් පංච කාමයට ඇති කැමැත්ත අඩු කරගන්න උත්සාහ වීර්ය කරන අයට එයින් ලැබෙන සහනයත් අත්දකින්න ලැබෙනවා. ඒකටම තමයි කාමයන්ගෙන් මිදීමේ සුවය ලබනව කියල කියන්නෙ. වඩාත් ප්‍රණීතතර සුවයක් ලබාගන්න නම් කාමයන්ගෙන් වෙන් වෙලා, අකුසල ධර්මයන්ගෙන් වෙන් වෙලා, ආදීනවය මෙනෙහි කරල විවේකීව ඉඳල ප්‍රථම ධ්‍යාන, ද්‍විතීය ධ්‍යාන... ආදී දහැන් වඩන්න ඕන. බුදු රජාණන් වහන්සේ ඉහාමත්ම සුඛ විහරණය විදිහටත් පෙන්වා දීල තියෙන, නිවනටම උපනිශ්‍රය වන, කිසිම මුළාවකට හසුවීමකින් තොරව ලබා ගන්න ධ්‍යාන සුවයත් විඳගෙන, ඒවාට නොඇලී නිවන් මාර්ගය පූර්ණ කරගන්න ගමන් ඉතා සන්සුන්ව සුවයෙන් වාසය කිරීමේ අවස්ථාව උදා කරගන්න අපි හැමෝටම පුළුවන් වෙනවා.

*සටහන:*

**විද්‍යාවේදී ඒ. එම්. ධනරත්න අල්විස්**
**පැපිලියාන**
**071 2736623**

**අභයරතනාලංකාරය - 73**

# නොපළ වූ ගුණ කඳ - II

## වහරක හිමියන්ගේ ගුණ කියා සමුගත් ආනන්ද හිමියෝ...



- වහරක අභයරතනාලංකාර හිමි

වහරක අභයරතනාලංකාර හිමියන්ගෙ ආදාහන පූජෝත්සවයට සහභාගි වෙච්ච පූජ්‍ය යටිවල්දෙණියේ ආනන්ද හාමුදුරුවො එදාම හැන්දෑවෙ මට මුණ ගැහිල, මහත්තයෝ මම තවත් රහසක් කියන්නම් කියල මෙහෙම කතාවක් කිව්වා. ආදාහන පූජෝත්සවයෙදි පවත්වපු ගුණකථන අනුව තමයි උන්වහන්සේට මේ කාරණයත් කියන්න හිතෙන්න ඇත්තෙ.

"මේ ත්‍රිපිටක ධර්මය වැරදි ආකාරයට විග්‍රහ කරන, ධර්මයට පටහැනිව කටයුතු කරන ස්ථාන කිහිපයක් ගැන ඒ කාලෙ කතා වුනා. එකක් තමයි මේ අභයරතනාලංකාර හිමියන්ගෙ වහරක පන්සල. ඒ නිසා භික්ෂූන් වහන්සේලා එකතු වෙලා කමිටුවක් පත් කරල ආචාර්ය ඕමල්පේ සෝභිත හාමුදුරුවන්ටයි මටයි පැවරුවා, වහරක පන්සලට ගිහින් මේ පොතපත බලල ඒ ගැන වාර්තාවක් දෙන්න කියල. මම ඉතින් දවසක් සෝභිත හාමුදුරුවොත් එක්ක ඒ ගැන හොයල බලන්න වහරක පන්සලට ගියා. වහරක අභයරතනාලංකාර හාමුදුරුවන්ගෙ ආවාස ගෙට ඇතුල් වෙන තැන රාක්කයක ලොකු ත්‍රිපිටක පොත් පෙළක් තිබුනා. ඒ අමතරව උන්වහන්සේ ලියපු පොත් කිහිපයකුත් තිබුනා. අපේ තිබිච්ච දැනුමත් එක්ක බැලුවම උන්වහන්සේ කියපු කාරණාවල පුංචි වචනයක් දෙකක් හැර, සමස්තයක් වශයෙන් ගත්තම එකම වචනයක්වත් ත්‍රිපිටකයට පටහැනි ඒවා අහු වුනේ නෑ. උන්වහන්සේ ත්‍රිපිටක දහම ප්‍රායෝගිකව අර්ථ කථනය කළා. අපිටවත් හිතාගන්න බෑ. උන්වහන්සේ කිව්වා, අපේ හාමුදුරුවනේ මම මේ ත්‍රිපිටකයෙන් එහා මොකවත් කතා කරන්නෙ නෑ කියල. ඒ වගේම මගේ මොනව හරි අඩුපාඩුවක් වැරැද්දක් තියේ නම් ඔබ වහන්සේලා ඒක පෙන්වා දෙන්න, මම ඒක හදාගන්න සූදානම් කියලත් බොහොම නිහතමානීව කිව්වා. මමයි අපේ සෝභිත හාමුදුරුවොයි ඒ වෙලාවෙම තේරුම් ගත්තා, ඇත්තටම අපිට තේරුම් ගන්න බැරි පුංචි අඩුපාඩු තියෙන්න පුළුවන් වුනත්, මේ ස්ථානයෙන් සිද්ධ වෙන්නෙ සුවිසාල සාසන මෙහෙවරක් කියල. ඉතින් අපි කොළඹ ගිහින් ඒ කමිටුවට වාර්තා කළා, වහරක පන්සලෙන් සිද්ධ වෙන සුවිසල් සාසන මෙහෙවර ගැන."

උන්වහන්සේ කියපු මේ රහස රහසක් වශයෙන් තබා ගැනීමට වඩා සියලු පින්වතුන්ට දැන ගන්න වටින කාරණයක් නිසා, ඒ පිළිබඳව වැඩිදුර තොරතුරු දැන ගැනීමේ අදහසක් ඒ වෙලාවෙ පහල වුනත්, ඒ අවස්ථාවෙ තිබිච්ච කාර්ය බහුලත්වය නිසා ඒ ගැන පසුව තොරතුරු දැනගැනීමේ අදහසින් මම ඒ පිළිබඳව කෙටි සටහනක් තබා ගත්තා. ඊටත් පෙර, අභයරතනාලංකාර හිමියන්ගෙ පිරිනිවීමෙන් පසු ඇති වෙච්ච තවත් වැදගත් සිද්ධි රාශියක තොරතුරු හෙළිදරව් කරන්න තිබුන නිසා, මාස 7 ක් පමණ ඉක්ම ගියාට පසුව තමයි ඒ සඳහා අවස්ථාව ලැබුනෙ. ඉතින් මේ යටිවල්දෙණියේ ආනන්ද හාමුදුරුවො පසුගිය සැප්තැම්බර් 24 වෙනි දා වහරක පන්සලේ තිබුන මහණ පිංකමකටත් උපාධ්‍යායන් වහන්සේ විදිහට සහභාගි වුනත්, බොහොම නිස්කලංකව ඒ තොරතුරු ලබාගත යුතු නිසා මම උන්වහන්සේට ඉතාම ළඟ ඉදිරි දිනක ඔබ වහන්සේ මුණගැහිල එදා කියපු රහස ගැන තවත් විස්තරාත්මක තොරතුරු දැනගන්න අවශ්‍ය බව පැවසුවා. උන්වහන්සේත් බොහොම සන්තෝසෙන්, මේ දවස්වල වස් වසන පන්සල ගැන සඳහන් කරල ඒ ස්ථානයට එන්න කියල කිව්වා.

ඊට දවස් 4 කට පමණ පස්සෙ මම උන්වහන්සේ මුණගැහෙන්න යන්න ලෑස්ති වෙනකොට, හදිසියේ අසනීප වෙලා උන්වහන්සේ රජයේ රෝහලකට ඇතුලත් කරල තියෙන බව දැනගන්න ලැබුනා. කොහොම හරි ඉතින් ඊටත් පහුවදා දුරකතන මාර්ගයෙන් සම්බන්ධ වෙලා උන්වහන්සේට කතා කළාම, අසනීප වුනාට කමක් නෑ මහත්තයෝ දහම ගැන දැනගන්නනේ එන්න කියල කිව්වා. එදා හවස මම උන්වහන්සේව මුණගැහෙන්න රෝහලට යනකොට, උන්වහන්සේව රෝහල් ඇඳක් මත යන්ත්‍රයකට සවි කරල බැලු බැල්මට ටිකක් අසාධ්‍ය මට්ටමක තමයි පේන්න තිබුනෙ. ඒත් එතන හිටපු හෙද නිලධාරි මහත්මයෙක්ගෙන් ඇහුවම මුන්වහන්සේට අමාරුද කියල, නෑ උන්වහන්සේට කතා කරන්න ලොකු අමාරුවක් නෑ කිව්වා. ඉතින් මම හයියෙන් කතා කළාම උන්වහන්සේ ඇහැ ඇරල නැගිටල බොහොම හොඳට ඉඳගෙන මේ වැදගත් තොරතුරු ටික දෙන්න ඉඳගන්න කිව්වා. මෙතැන් පටන් මම ප්‍රශ්න-උත්තර විදිහට උන්වහන්සේගෙන් ඒ කරුණු ලබා ගත්තත්, ඉදිරිපත් කිරීමේ පහසුව තකා ඒ සියලු තොරතුරු උන්වහන්සේගේ උත්තර විදිහට ඉදිරිපත් කරනවා. මේ තමයි වහරක අභයරතනාලංකාර හාමුදුරුවො ගැන උන්වහන්සේගෙ අත්දැකීම.

"දැනට අවුරුදු 5 - 6 කට විතර කලින් කොළඹ කොටුවෙ සම්බුද්ධාලෝක විහාරයේ භික්ෂූන් වහන්සේලා එකතු වෙලා ලොකු රැස්වීමක් තිබ්බා. රටේ විවිධ ක්ෂේත්‍රවල ප්‍රවීණයන් හැටියට ඉන්න ආචාර්ය, මහාචාර්ය, විශ්වවිද්‍යාල කුලපති, මහෝපාධ්‍යා... ආදී ලොකු ලොකු හාමුදුරුවරු 25 - 30 ක් විතර ඒකට සහභාගි වුනා. මමත් ආචාර්ය ඕමල්පේ

සෝභිත හාමුදුරුවොත් ඒකට සහභාගි වුනා. එතනදි යෝජනාවක් ගෙනාවා. මේ වෙනකොට ලංකාවෙ නොයෙක් ප්‍රදේශවල නොයෙක් ආකාරයේ සාසනික සම්ප්‍රදායන් බිහි වෙලා මහ අවුලක් ඇති වෙලා. සමහරු බුද්ධාගම විවේචනය කරනවා. සමහරු බුදු දහමට පටහැනි දේවල් කියනවා. තවත් සමහරු බුද්ධාගම කණපිට හරවනවා. මේ වගේ දේවල් ගැන තමයි කතා වුනේ. වහරක අභයරතනාලංකාර හාමුදුරුවන්ගෙ පන්සල ගැනත් ඒ අතර මුලින්ම කියවුනා. මට හොඳට මතකයි ඒ වෙලාවෙදි ඕමල්පේ සෝභිත හාමුදුරුවො මෙහෙම කිව්වා. පටන් ගත්ත ගමන්ම කිසි දෙයක් දන්නෙ නැතිව ඔහොම එකපාරටම චෝදනා කරන්න යන්න එපා, ඒ අය කියන්නෙ මොනවද කියල හොයල බලන්නෙ නැතිව ඔහොම චෝදනා කිරීම වැරදි වැඩක්, එහෙම නෙවෙයි අපි කරන්න ඕන දේ තමයි ඒ අය ළඟට ගිහින් ඒ අයගෙ කරුණු ගැන අධ්‍යයනය කරල දැනුවත් වෙන එක, හැබැයි ඒක රහසිගතව කරන්න ඕනත් නෑ, ඒ අයත් එක්ක කතාබහ කරල ඒ තොරතුරු අනුසාරයෙන් තීරණ ගනිමු. ඒක තමයි වඩාත් බුද්ධිමත් කියලයි අදහස ඉදිරිපත් වුනේ. එතකොට සමහර භික්ෂූන් වහන්සේලා එක එක දේවල් කිව්වා. එහෙම කරන්න බෑ, ඒ වගේ දේවල් ගැන අහ අහ ඉන්න දෙයක් නෑ කියල තමයි කිව්වෙ. පස්සෙ ඕමල්පේ සෝභිත හාමුදුරුවො කතා කළා, මේ ගැන හොයල බලන්න අපි මෙහෙම කමිටුවක් පත් කරමු කියල.

ඒ අනුව වහරක අභයරතනාලංකාර හාමුදුරුවන්ගෙ වැඩසටහන පිළිබඳව අධ්‍යයනය කරල වාර්තාවක් ඉදිරිපත් කරන්න මටයි ඕමල්පේ සෝභිත හාමුදුරුවන්ටයි පැවරුවා. ඉතින් අපි සතුටින්ම ඒ වැඩේ බාර ගත්තා. ඒ අනුව අපි දිනයක් දාගෙන මේ ගැන හොයන්න ගත්තා. මමත් ඉතින් වහරකට කිට්ටුව රුවන්වැල්ල ප්‍රදේශයේ විහාරස්ථානයක වැඩ හිටියට මේ කියන පන්සල ගැන වැඩි විස්තරයක් දැනගෙන හිටියෙ නෑ. පවුලෙ ඔක්කොම මහණ වෙලා ඉන්න පන්සලක් කියන කාරණය මිසක් වැඩිදුර තොරතුරු දැනගෙන හිටියෙ නෑ. ඇත්තටම අපි ඒ කියන ධර්ම කාරණා ගැනවත් විග්‍රහ කරල මොකුත් දැනගෙන හිටියෙ නෑ. අපි කවුරුත් දැනගෙන හිටියෙ මේක දහම විකෘති කරන තැනක් කියල. ඒ නිසා අපි ඒ ගැන එච්චර ගණන් ගත්තෙත් නෑ. යන්න උවමනාවක් තිබුනෙත් නෑ. ඒ අය ඒ අයගෙ වැඩ කරගෙන ගියා, අපි අපේ වැඩේ කරගෙන ගියා.

ඊට පස්සෙ ඉතින් මමයි සෝභිත හාමුදුරුවොයි, අපි අහවල් දවසෙ එනව කියල ඒ පන්සලේ හිටපු තවත් හාමුදුරු නමකට කලින් දැනුම් දීල මේ කියන වහරක පන්සලට ගියා. ඉතින් මෙතනදි අපිට පොඩි උදව්වක් වුනා, වහරක නාගරුක්ඛාරාමෙ ඉන්න කපුවැල්ලේ රතනසාර හාමුදුරුවො. උන්වහන්සේ හරි ප්‍රබුද්ධයි. අපි දෙන්න ඉතාම කල්‍යාණ මිත්‍රයො. උන්වහන්සේටත් මම කිව්වා, අපි අහවල් පන්සලට එනව කියල. උන්වහන්සේත් බොහොම සන්තෝස වුනා. අනේ අපි යනකොට අභයරතනාලංකාර හාමුදුරුවො ටිකක් අසනීපෙන් හිටියෙ. ඉතින් උන්වහන්සේ දැනගෙන ඉන්න ඇති අපි උන්වහන්සේ ගැන හොයන්න බලන්න ආවෙ කියල. මුලින්ම අපි කරුණු හාරන්න යන්නෙ නැතිව උන්වහන්සේ කියන දේවල්, කතා කරන හැටි අහගෙන බලාගෙන හිටියා. උන්වහන්සේ පැහැදිලිව කියපු දෙයක් තිබුනා. මම රහත් කියල කියන්න යන්නෙත් නෑ, මම බුදු වුනයි කියන්න යන්නෙත් නෑ, මම නිවන් දැක්ක කියල කියන්න යන්නෙත් නෑ, මම මට තේරෙන විදිහට ත්‍රිපිටක ධර්මය විග්‍රහ කරනවා, මේ ත්‍රිපිටක පොත් ටික තමයි මම කියවන්නෙ අධ්‍යයනය කරන්නෙ, ගවේෂණය කරන්නෙ, ඒ කරුණු අතට ගත්තම මට යම් යම් දහම් සිතිවිලි පහල වෙනවා, මම ඒවා ප්‍රකාශයට පත් කරනවා.

මේ විදිහට කතා කරල උන්වහන්සේ ඒ බණ දේශනා අඩංගු සංයුක්ත තැටි, හෙළ බොදු පියුම සඟරා, තවත් පොත්පත් සෑහෙන ගණනක් අපට දුන්නා. එහෙම දීල කිව්වා, අද ඔබ වහන්සේලා මෙහේ වැඩ ඉන්න, මේ ඔක්කොම බලල වැරදි අඩුපාඩු තියේ නම් පෙන්වා දෙන්න කියල. උන්වහන්සේ අපිට වැදලම කිව්වා, මූලික ත්‍රිපිටක ධර්මයට පරිබාහිරව මම යමක් කියනව කියල පෙන්නුවොත් ඒක මම දොහොත් මුදුන් දීල පිළිගන්නවා, මේ දහමින් පිට මම යමක් කියන්නෙ නෑ අපේ හාමුදුරුවනේ කියල. ඒ අනුව මමයි සෝභිත හාමුදුරුවොයි පැය 6 - 7 ක් විතර ඉඳල තේරුම් ගත්ත දේ තමයි, වචන විග්‍රහ කරනකොට පුංචි පුංචි අඩුපාඩු තිබුනත්, අපි හිතාගෙන හිටපු විදිහෙ වැරැද්දක් මේකෙ නෑ කියල. ඒ පුංචි අඩුපාඩු කියන ඒවත් ඇත්තටම අඩුපාඩු නෙවෙයි. ඒව ඉතින් අපේ නොදැනීම මත, අපිට තේරුම් ගන්න බැරිකම නිසා එහෙම දැනෙනව වෙන්නත් ඇති. ඉතින් කවුරු වුනත් ඒවාට පහර ගහන්නෙ නැතිව මේ ගැන හොයල බලන්න ඕන. තථාගතයන් වහන්සේ දේශනා කරනවා, තථාගතප්පවේදිතෝ භික්ඛවේ ධම්ම විනයෝ විවටෝ විරෝචති නෝ පටිච්ඡන්නෝ කියල. එතනදි කියනවා, ධර්ම විනය දෙක බබලන්නෙ වැහිල තියෙනකොට නෙවෙයි, වැහිල තියෙන දේ අරිනකොටයි කියල. දැන් එතකොට උන්වහන්සේ කරන්නෙ මෙච්චර කාලයක් වැහිල තිබිච්ච දහම ඇරල එළියට අරගෙන පෙන්වන එක. ඒ නිසා ඒ ගැන සැළකිලිමත් විය යුතුයි.

ඉතින් උන්වහන්සේ දීපු පොත්පත්, සංයුක්ත තැටි... ආදිය අපි අරගෙන ඇවිත් ඒ අදාළ තැන්වලට කරුණු ඉදිරිපත් කළා. ඔය කාලෙ වෙනකොට මහා කලහකාරීව ආවේගශීලීව හැසිරෙන සමහර භික්ෂූන් වහන්සේලා හිටියා. අපි හැම වෙලේම ඒ අයට කිව්වෙ, මේක වැරදි වැඩක්, එහෙම ආවේගශීලීව නිකං පිස්සො වගේ කඩා පැනීම සිවුරට ගැලපෙන්නෙ නෑ කියල. **භික්ෂූන් වහන්සේලා වුනාම සංවර වෙන්න ඕන, සන්සුන් වෙන්න ඕන. ඉස්සෙල්ලම අපි ගිහින් හොයල බලල තේරුම් අරගෙනයි කතා කරන්න ඕන. එහෙම නැතිව මෙලොව දෙයක් දන්නෙ නැතිව කෑගහන එක මහ මෝඩකමක්. ඒකෙන් වෙන්නෙ නැති ආයුධත් ඒ අයට දෙන එක. ඒක බුදු දහමට නිගාවක්.** ඉතින් ඊට පස්සෙ ඒ කතාබහ එහෙම්ම යටපත් වුනා. අපි කොළඹට ගිහින් ඒ හාමුදුරුවරුන්ට කිව්වා, වහරක අභයරතනාලංකාර හාමුදුරුවන්ගෙ පන්සල එහෙම තැනක් නෙවෙයි, මෙන්න මේ වගේ ඇත්තටම දහම නගා හිටුවන තැනක් කියල. ඒ පොත්පත්, සංයුක්ත තැටි පවා අපි උන්වහන්සේලාට දුන්නා. අපි උන්වහන්සේලාට කිව්වා, මේක තේරුමක් ඇති වැඩක් නෙවෙයි, මේ ගැන තවදුරටත් කතා කරල වැඩක් නෑ, මේ අය හොඳ වැඩක් කරගෙන යනවා, බලමු ඉස්සරහට මොකද වෙන්නෙ කියල. ඒ විදිහට අපි අපේ අදහස කියල ආවා.

අපි එතනදි තේරුම් ගත්තා, ඇත්ත වශයෙන්ම යමක් ගැන හරියටම දන්නෙ නැතිව ඒ ගැන කතා කිරීම මහ මෝඩ වැඩක්, මහ අවිඥානික වැඩක් කියල. විය යුත්තේ ඒ ගැන හරියට හොයල බලල අදහස්

ප්‍රකාශ කිරීම. ඉතින් ඔය සිද්ධියෙන් පස්සෙ සෝභිත හාමුදුරුවොයි මමයි කොළඹදි මුණගැහෙනකොට සෝභිත හාමුදුරුවො මගෙන් අහනවා, කොහොමද හාමුදුරුවනේ වහරක පැත්ත කියල. ඉතින් උන්වහන්සේත් වහරක හාමුදුරුවො මතු කළ ධර්මය ගැන කලකිරීමක් ඇති වුනා නම් එහෙම අහන්නෙ නැනෙ. ඒ පැත්තෙ කිහිප වතාවක්ම යන්නෙ නැනෙ. මොකද ඊට පස්සෙ දවසකත් උන්වහන්සේ ඒ ළඟපාත බණකට වැඩම කරපු අවස්ථාවක, අපි යමු හාමුදුරුවනේ කියල වහරක පන්සලට ගිහින් අභයරතනාලංකාර හාමුදුරුවො මුණ ගැහුනා. ඉතින් ඊට පස්සෙ වහරක පන්සලේ මොනව හරි විශේෂ පින්කමක් තිබුනොත් මටත් දැනුම් දෙනවා.

වහරක පන්සලට යන්න කලින් අපි හිතාගෙන හිටියෙ මේක මහ රණ්ඩුවට එන තැනක් වෙන්න ඇති කියල. නමුත් එහෙම තැනක් නෙවෙයි. හරිම අහිංසක විදිහට දහම මතු කරන තැනක්. මම මේ කියන්නෙ මට පෙනිච්ච දෙයක්. හුඟ දෙනෙක් ධර්මය කියන්න යන්නෙ තමන් තේරුම් අරගෙන නෙවෙයිනෙ. සමහරුන්ට එහෙම තේරුමක් දෙන්න විදිහක් නෑ. ඒ අය ඒ ගැන දන්නෙ නෑ. නිකං යමක් කියනව විතරයි. නමුත් එහෙම හරියන්නෙ නැනෙ. හැබැයි වහරක හාමුදුරුවො එහෙම නෙවෙයි, හරියට අදහස තේරුම් අරගෙන හොඳට පැහැදිලිව ඒ අදහස තව කෙනෙකුට කියනවා. ඒ තරම් හොඳට ලස්සනට කියන්න පුළුවන්. මොකද උන්වහන්සේ තේරුම් ගත්ත දේ. උදාහරණයක් විදිහට සීනි කාල තියෙන කෙනාට තවත් කෙනෙකුට සීනි රස කියන්න පුළුවන් වගේ. ඒක අහල අනිත් කෙනත් සීනි කෑවම ඔහුට තේරෙනවා අර කිව්ව දේ ඇත්ත කියල. ඒ වගේ මුන් වහන්සේ හොඳට ධර්මය කියවල තේරුම් අරගෙන අනිත් අයටත් කියල දෙන්න පුළුවන් හැකියාව හොඳට තියෙනවා. ඒක හරිම රසවත් වටිනාම දෙයක්. ඒ වගේ කෙනෙක් මම මීට පෙර දැක්කෙ නෑ.

මොනව වුනත් අපි පොඩ්ඩක් ගවේෂණය කරන්න එපැයි. ඉතින් අපි වටහා ගත්ත දෙයක් තමයි, මේ රටේ හුඟක් ඉන්නෙ, හරියට පසුබිම දන්නෙ නැතිව වටපිටාව පොඩ්ඩක් එහෙන් මෙහෙන් අතපත ගාල කෑ ගහන උදවිය. නමුත් ඇත්ත එළිවෙන්න නම් පොඩ්ඩක් ඒ ගැන හොයල බලන්න ඕන. බණ පොතක් වුනත් විවේචනය නොකර ඒකෙ තියෙන්නෙ මොනවද කියල ඉස්සෙල්ල කියවල බලන්න ඕන. සමහරු ඉන්නවා මහා භයානක විග්‍රහ කරන. ඒ වගේ කෙනෙකුට මම දවසක් දුරකතනයෙන් කතා කළාම, ඔහු කියනවා ඔහුට බුදු හාමුදුරුවො කියල ආමන්ත්‍රණය කරන්න කියල. මම කිව්වා ඒක මහ වැරදි කතාවක්නෙ කියල. නෑ මම සුදානම් ඔබ වහන්සේ ප්‍රශ්න අහන්න කිව්වා. ඉතින් ඒ වගේ අය වුනත් එක පාරටම ප්‍රතික්ෂේප කරන්න හොඳ නෑ. මොනවද කියන්නෙ, ඇයි එහෙම කියන්නෙ කියල හොයල බලන්න ඕන. සමහර විට ඔය සෝවාන්, සකෘදාගාමී... මගඵල ගැන කියනවා. ඉතින් ඒ ගැන කතා කරන එක හොඳයි. විමර්ශනය කරල බලන්න ඕන.

දැන් එතකොට වැදගත්ම දේ තමයි, මෙච්චර වටිනා දහමක් ලෝකෙ තිබුන නම් අද ඒක නැවත මතු කර ගැනීම මොන තරම් වටිනවද? නැත්නම් ලෝකයා බලන්නෙ මේ බුදු දහම මහා ශූන්‍ය දෙයක් කියලනේ. නිකං මනෝ සංචේතනික මනෝ මූලික කරුණු පද්ධතියක් විග්‍රහ කරන වචන හැල්ලක් විතරයි කියල මිනිස්සු හිතන්නෙ. නමුත් ඔය විදිහට යමක් තේරුම් අරගෙන ප්‍රතිඵල දකින්න පුළුවන් නම් කොච්චර වටිනවද? ඇත්ත වශයෙන්ම පතලක් කපල මැණික් මතු වෙන්න නම් ඒ වැඩේ කෙරෙන්න එපැයි. ඒකට මහන්සි වෙන්න එපැයි. ඉතින් සමහරු කල්පනා කරනවා, අපි තමයි මේකෙ අයිතිකාරයො කියල. ධර්මය වුනත් අපි කියන එක තමයි හරි, අනික්වා වැරදියි කියල හිතාගෙන ඉන්නෙ. නමුත් එහෙම අයිතියක් නැනෙ. මට කියන්න පුළුවන්ද අහවලා ත්‍රිපිටක දහම විග්‍රහ කිරීම සම්පූර්ණයෙන්ම වැරදියි කියල. ඒක මට කියන්න අයිතියක් නෑ. අනික් අයට පුළුවන්, සාමාන්‍යයෙන් සම්මතයට පටහැනිව යමක් කියනව නම් එහෙම දෙයක් ගැන පොඩ්ඩක් හොයල බලන්න. මේ දහමෙ යනකොට කිසි ගැටුමක්, විරුද්ධකමක් නෑ. ඇවිත් බලන්න පුළුවන්. මේ සඟරාවෙ ලියන ලිපි පෙළ වුනත්, මේක පිළිගනිල්ලා, මේක පරමයි කියල එහෙම කියන්නෙ නැනෙ. ඇවිත් බලල වැටහෙනව නම් තේරුම් ගන්න.

වහරක හාමුදුරුවො අපවත් වෙන්න කලින් උන්වහන්සේ වැඩ හිටිය අනුරාධපුර කුටියෙදි මගේ ඕනකමට තවත් හමුවක් දාගත්තා. මට දැනගන්න ඕන වෙච්ච වැදගත් කාරණයක් තිබුනා. (මේ සම්බන්ධයෙන් උන්වහන්සේ හෙළිදරව් කළ කාරණා, තවමත් සුදුසු කාලය එළඹ නැති නිසා පසු කාලයකදි සුදුසු අවස්ථාවක් ආවොත් විතරක් හෙළි කරන්න බලාපොරොත්තු වෙනවා.)



පූජ්‍ය යටිවල්දෙණියේ ආනන්ද හිමි

උන්වහන්සේ ඒ වෙනකොටත් හුගක් අසනීපයෙන් හිටියෙ. ඒ වුනත් මට පුදුමත් හිතුනා, ඒ උත්තර දීපු විලාසය ගැන. ඒ වගේම උන්වහන්සේට අපිට ඇහෙන්නෙ නැති මොනවහරි ගුප්ත හඬවල් ඇහෙනව කියලත් මට තේරුනා. ඉතින් මම නැවතත් ඇවිත් කතා කළේ, අපි අධ්‍යයනය කළ යුතු, හොයල බැලිය යුතු මට්ටමක තියෙන තැනක් මේක කියල.

ඉතින් ඇත්ත වශයෙන්ම උන්වහන්සේගෙ මේ පැහැදිලි කිරීම්වලින් පස්සෙ මම තේරුම් ගත්තා, හුඟක් අය කොච්චර නම් අඥානද, මේ වගේ ප්‍රශ්නවලදි ආවේග කාරීව බොහොම කලබලකාරීව යමක් හිතන්නෙ නැතිව යමක් කියන්නන් වාලෙ කියන එකේ ආදීනව නිසා කොච්චර පරිහානියට පත් වෙනවද කියල.

ඉතින් අතීතයෙත් ඔහොම අය පහල වේගෙන එන්න ඇති. එදත් ඔය වගේ කලබලකාරයො වළං පොඩි කරල දානව වගේ වෙන්න ඇති. නැත්නම් මේ ධර්මය මේ විදිහට මෙච්චර කාලයක් වැහිල තියෙන්න හේතුවක් නෑ. "ධම්ම විනයෝ විවටෝ විරෝචති - විවෘත කරනකොටයි බබලන්නෙ" වැහිල තියෙනකොට මල් පූජා කළාට, සුවඳ දුම් ඇල්ලුවට කවදාවත් දහම බබලන්නෙ නෑ. බබලන්න නම් ක්‍රියාත්මක වෙන්න ඕන. ඒ අනුව වහරක හාමුදුරුවො මේ වහල තිබිච්ච දහමෙ ඒ වැහුම් ඇරියා.

**උන්වහන්සේගෙ මුවින් පිටවෙන වදන් හරි පුදුම සහගතයි. හිතාගන්න බෑ මේව කොහොමද මේ ආකාරයෙන් කියන්නෙ කියල. මම හිතන විදිහට උන්වහන්සේ භාෂා එහෙම ඉගෙන ගත්තු කෙනෙකුත් නෙවෙයි. ඉතින් මෙච්චර මේ ත්‍රිපිටකයෙ තියෙන කරුණු මේ විදිහට කියන්න තරම් කොහොමද උන්වහන්සේට දැනුමක් ආවෙ?**

සමහර වෙලාවට මම දැකපු සුවිශේෂීය කාරණයක් තමයි, උන්වහන්සේ සමහර ධර්ම කාරණා විග්‍රහ කරගෙන යනකොට, අහවල් සංයුක්ත නිකායේ අහවල් සූත්‍රයේ මේ විදිහට තියෙනවා, දීඝ නිකායේ අහවල් තැන මෙහෙම තියෙනවා... ආදී වශයෙන් එහෙමත් කියන්න පුළුවන්කම තිබුනා. ඒ වගේ හොඳ කල්පනා ශක්තියක් තිබුනා. ඒ වචන කොහෙන් කොහොම කටට එනවද මම දන්නෙ නෑ. මමත් ටිකක් රෝගියෙක්. ඒත් මේ ධර්ම කාරණා මතු කරගන්න කොච්චර නම් මහන්සි වෙන්න ඕනද? එහෙම එකපාරටම ඔළුවට එන්නෙ නෑ. නමුත් වහරක හාමුදුරුවො අච්චර බරපතල රෝගී තත්ත්වයක ඉඳලත්, ඒ වගේ ගැඹුරු දහම් කරුණු නිවැරදිව කියන්න පුළුවන් මට්ටමක හිටියා. ඒ තරම් මහා හැකියාවක් තිබුනා. ඉතින් අවාසනාවට සමහරු ඒකට කැමති නෑ. මොකක්ද ඉතින් ඒකට කරන්නෙ? සමහර විට ඒ අයට අවාසි සහගතයි කියල හිතෙනව ඇති. ඒ කියන්නෙ ඇත්ත එළිවෙනකොට සමහරුන්ට පාඩු වෙනවනේ.

ඉතින් මට හිතෙනවා, වහරක අභයරතනාලංකාර හාමුදුරුවන්ගෙ පරම පවිත්‍ර චේතනාව වුනේ, උන්වහන්සේ විඳපු දහම් රසය අනිත් අයටත් දෙන්න තියේ නම් කොච්චර හොඳද කියනව වගේ අදහසක් කියල. නමුත් හුඟ දෙනෙකුට එහෙම අදහසක් නැනෙ. දැන් මට යම් කිසි වස්තුවක් හිමි වුනොත් මම කැමතියිනෙ ඒක මටම තියාගන්න. නමුත් එහෙම නෙවෙයි, බෙදා හදාගන්න එපැයි. අනිත් අයටත් දෙන්න එපැයි. අන්න ඒ මහඟු සිතිවිල්ල උන්වහන්සේ ළඟ තිබුනා. උන්වහන්සේ ඔය ගිහි කාලෙ හොයාගත්තු දේවල් අනිත් අයත් දැකල ගවේෂණය කරල අත්දැකීමක් බවට පත් කර ගැනීම ගැන ලොකු සතුටක් තිබුනා. සමහර විට අර දරුණු අසනීප තත්ත්ව යටතේ වුනත් බොහොම සිනාමුසු මුහුණින් ඉන්නවා. **කොයි තරම් හැඟීමකින් ඒ දහම් කරුණු කියනවද? ඒ වගේ, ධර්මය ප්‍රායෝගික කරන්න ඉඩක් ලැබීම පිළිබඳව උන්වහන්සේ සතුටු වෙච්ච බවත් මම දැක්කා.**

ඉතින් මමත් ඊට පස්සෙ අවස්ථා 3 - 4 කදි විතර උන්වහන්සේ මුණගැහිල ධර්ම සාකච්ඡා කරල තියෙනවා. ඒ හැම තැනකදීම මම දැක්කෙ, උන්වහන්සේ තුළ තිබ්බච්ච විවෘතභාවය. අනික තමයි කිසිම කම්පාවක් තිබුනෙ නෑ. මට විරුද්ධව මේ තරම් බලවේගයක් තියෙනව කියලවත් කම්පාවක් තිබුනෙ නෑ. ඒ බලවේග දැන් වුනත් තියෙනවනෙ. මොකද වහරක කියන නම කියනකොටම උණ ගන්න අයත් ඉන්නවනෙ. නමුත් ඒ ගැන කිසිම කම්පාවක් උන්වහන්සේට තිබුනෙ නෑ. එහෙම තත්ත්වයක් ගැන හිතන බවක්වත් පෙනුනෙ නෑ. ඒ ගැන ගණන් ගත්තෙ නෑ. මෙච්චර අමාරු වැඩ පිළිවෙලක් විවේචනය කරනව කියල උන්වහන්සේ දැනගෙන හිටියද දන්නෙත් නෑ. නැත්නම් ආවේගයෙන් කෑ ගහන්න එපැයි. උන්වහන්සේ කොයි වෙලාවකවත් තරහින් අරුන් මුන් කියල ඒ වගේ වචන පාවිච්චි කළේ නෑ. උන්වහන්සේ කිව්වෙ, මට වැටහිච්ච ධර්මය මේකයි, වැරදි තියේ නම් කියන්න, මම හදාගන්න සූදානම් කියල. මට තවම මැවිල පේනවා, උන්වහන්සේ ඒක කිව්වෙ ඉතාම ප්‍රසන්න හැඟීමෙන්, බොහොම සන්තෝසයෙන්.

ඇත්ත වශයෙන්ම උන්වහන්සේගෙ තිබ්බච්ච උදාර ගති ලක්ෂණයක් තමයි, තමන්ට එරෙහි පිරිස ගැන කේන්ති ගන්නෙ නැතිව ඉවසන එක. ඕන කෙනෙක් ඕන දෙයක් කියපුදෙන් මගෙ වැඩේ මම කරනවා වගේ හැඟීමක් තමයි තිබුනෙ. ඇත්ත වශයෙන්ම මම වුනත් මුලින්ම ගියේ මූණටම ගිහින් මේ ගැන කියල, ඒ ගැන හොයල බලන්න ඕන කියන හැඟීමෙන්. නමුත් අපි ගිහින් උන්වහන්සේත් එක්ක වචන 2 - 3 ක් කතා කරනකොටම ඒ අදහස වෙනස් වුනා. උන්වහන්සේ එහෙම කෙනෙක් නෙවෙයි කියල වැටහුනා. ඉතින් අපි යමක් තේරුම් ගන්න උත්සාහ කළා. දවසින් දවස ඒ අදහස තහවුරු වුනා මිසක් කඩා කප්පල් වුනේ නෑ. ඊට පස්සෙ ඉතින් ඒ කියන කාරණා වැරදි නම් පසු කාලෙක හරි එළිවෙන්න එපැයි. දැන් අවුරුදු 5 - 6 ක් විතර ගිහින් මොකුත් වුනේ නෑ. දවසින් දවස ධර්මානුකූල බව, ආගමික සම්බන්ධය වැඩි දියුණු වුනා.

ඒ වගේම සාමාන්‍යයෙන් ගත්තොත් එහෙම මහා විහාර සම්ප්‍රදායේ ප්‍රධාන මූලස්ථානය තමයි මල්වතු විහාරය කියන්නෙ. ඉතින් සම්මත වශයෙන් කියනව නම්, වහරක හාමුදුරුවො වැඩ හිටපු මේ පන්සල අපේ මල්වතු විහාරයට අයිති පන්සලක් නිසා මනසේ තවත් පොඩි ලෙන්ගතුකමක් තියෙනවා. අනෙක් භික්ෂූන් වහන්සේලාගේ යුතුකමක් තියෙනවා ඒක රැකගන්න. විවේචනය කර කර ඉන්න එක නෙවෙයි හපන්කම. පැත්ත පළාතෙ යන්නෙ නැතිව නිකං විවේචනය කළාට හරියන්නෙ නෑ. ලංකාවෙ දැනට හුඟක් අභියෝගාත්මක චරිත කිහිපයක් තියෙනවනෙ. හැසිරීම් රටාවෙන්, කරන කියන වැඩවලින් යම් කිසි ආවේග කාරී බවක් සමහරුන්ට තියෙනවා. ඒවා ධර්මය නෙවෙයි. නිකං තිරිසන් ගති මතුවෙන අවස්ථා එනවනේ. ඒක වැරදියි. භික්ෂූන් වහන්සේලා විදිහට අපි හිතන්න ඕන සංවරකම ගැන. තාප්ප කඩාගෙන බිඳගෙන උඩින් පැනගෙන සිවුරු කරේ තියාගෙන යන ඒවා ගැළපෙන්නෙ නෑ. අපිට එදා ඕනකම තිබුනෙත් භික්ෂූන් වහන්සේලාට එහෙම ආවේගකාරීව ඒ ඒ තැන්වලට යන්න එපා කියල කියන්න.

ඉතින් මේ වගේ අපි තවත් තැන්වලට බලන්න ගියා. ඔය වගේ සම්ප්‍රදායට පටහැනිව යනවයි කියපු සමහර ස්ථාන නම් වහරක හාමුදුරුවන්ගෙ අහලකින්වත් තියන්න බෑ. ඒ අයගෙ සාසනික කටයුතුවලට වඩා තියෙන්නෙ ආයතනයක් පවත්වාගෙන යෑමේ අදහස.

ඒ වගේම තමයි වහරක හාමුදුරුවන්ගෙ තවත් විශේෂත්වයක් මම දැක්කා. උන්වහන්සේ කවුරුවත් පුද්ගලිකව විවේචනය කළේ නෑ. මගෙ දැනුමෙ හැටියට පුද්ගලයින්ගෙ නම් ගම් කියල එක වචනයක්වත් කිව්වෙ නෑ. අඩු ගානෙ උන්වහන්සේගෙන් බණ අහපු ශිෂ්‍යයො ගැනවත් විශේෂ්පයක් දක්වනව කියල මට තේරුනේ නෑ. කිසි කෙනෙක් ගැන පුද්ගලිකව විවේචනයක් කළේ නෑ. බැන්නෙ නෑ. මට හිතෙන්නෙ ත්‍රිපිටකය අරගෙන බැලුවොත් එහෙම, බුදුන් වහන්සේ යම් කිසි කෙනෙකුට චෝදනා කරපු වචන තියෙන්නෙ එකයිනෙ. මෝඝ පුරිසය කියන එක විතරමයි තියෙන්නෙ. අවුරුදු 45 ක කාලයක් විවිධාකාරයේ අය ඇසුරු කරලත් ත්‍රිපිටක සාහිත්‍යයේ සඳහන් වෙන්නෙ ඔය වචනය විතරයි. ඒ කියන්නෙ භිස්

මිනිහෙක් කියල. එකම අවස්ථාවක පෝට්ල හාමුදුරුවන්ට තුච්ඡ පෝට්ල කියල කතා කළා. ඒ කතා කළෙත් උන්වහන්සේව හරි මගට ගන්න.

ඉතින් ඒ මාර්ගය අනුගමනය කරන කෙනෙක් විදිහට වහරක හාමුදුරුවන්ගෙ **අනවශ්‍ය විවේචන තිබුනෙ නෑ. උපේක්ඛා කියන ගුණය මම දැක්කා. මැදිහත් බව, කම්පා නොවෙන ගතිය උන්වහන්සේට තිබුනා.** එහෙම නැත්නම් මම දන්න විදිහට උන්වහන්සේට තිබිච්ච පරිවාර සම්පත්තියත් එක්ක, උන්වහන්සේගෙ දායකයොත් එක්ක ලොකු රණ්ඩුවකට ගියා නම් එහෙම, ඒකට පස්සෙන් යන කට්ටියත් ඉන්නවා. ඒ ඉන්නෙත් නිකං අය නෙවෙයිනෙ. යමක් කමක් කරන්න පුළුවන් ලංකාවෙ වැදගත් පිරිසක් හිටියෙ. හොඳ ජවයක් තියෙන තරුණ පිරිස. ඕන නම් ඒ පිරිස උසිගන්වන්න තිබුනා. නමුත් උන්වහන්සේ කවදාවත් එහෙම කළේ නෑ. ඒක උන්වහන්සේගෙ තිබිච්ච වටිනා ගුණයක්. **ඇත්ත වශයෙන්ම උන්වහන්සේ නිසා ධර්මය බැබලුනා මිසක් සාසනයට හානියක් වුනා කියල නම් කිසිසේත්ම කියන්න බෑ. එහෙම කියන කෙනෙක් ඉන්නව නම් මම සූදානම් ඒ අයත් එක්ක කතා කරන්න.** වහරක හාමුදුරුවොත් එක්ක මගේ නෑදෑකමක් ඇත්තෙත් නෑ, වෙන මොකුත් සම්බන්ධයකුත් නෑ. නමුත් ලෝකයේ තියෙන ඇත්ත කියන්න එපැයි. මම හිතනව බුදුන් වහන්සේ වැඩ හිටිය නම් අඬ ගහල ප්‍රසංසා කරයි. භික්ෂුවට අයිති වැඩක් කළා නම් මම හිතන්නෙ බුදුන් වහන්සේ ප්‍රසංසා කරාවි. "කතං කරණීයං" කියල කළ යුත්ත කරන කෙනෙක් හැටියට හඳුන ගනීවි."

---------------------------------------

අභයරතනාලංකාර හාමුදුරුවො ගැන විස්තර කියපු මේ යටිවල්දෙනියේ ආනන්ද හාමුදුරුවො කොහොම කෙනෙක්ද කියල දැනගන්න ඕන නිසා උන්වහන්සේ වැඩ වාසය කරන විහාරය, ලෝක සම්මතයේ දරපු තනතුරු, කරපු වැඩ කටයුතු ආදිය ගැනත් මම උන්වහන්සේගෙන් විමසුවා. මොකද ඒ වගේ භික්ෂූන් වහන්සේ නමක් අද කාලෙ මේ නැගී එන දහම වෙනුවෙන් කතා කරනව කියන්නෙත් එක්තරා ආකාරයකට දුර්ලභ කාරණයක් නිසා. ඉතින් මම අහපු නිසාම උන්වහන්සේ බොහොම අනතිමානීව තමන් වහන්සේ ගැන මේ විදිහට කෙටියෙන් විස්තරයක් කළා.

"මම රුවන්වැල්ල ඉහළ මොරාවත්ත ශ්‍රී වික්‍රම රාජසිංහාරාමයේ වැඩ ඉන්නෙ. ඒක වළගම්බා රජතුමාටත් සම්බන්ධ පැරණි ස්ථානයක්. මම දැනට විද්‍යෝදය විශ්වවිද්‍යාලයේ ආචාර්ය උපාධියට ලියාපදිංචි වෙලා ඉන්නෙ. ශාස්ත්‍රපති ශාස්ත්‍රවේදී විභාග නම් සමත්. ඒ වගේම ලංකාවෙ මත්ලෝලීන් පුනරුත්ථාපනය කරන ශ්‍රී ලංකා අමද්‍යප යොවුන් සමාජය කියන ව්‍යාපාරයට මම අදටත් සම්බන්ධයි. රුවන්වැල්ල මුල් කරගෙන මම ඒක කොළඹටත් ගෙනිච්චා. සමාජයේ නම ගිය බොහෝ දෙනෙක් මාත් එක්ක වැඩ කළා. ඊට අමතරව පොලිසියත් එක්ක එකතු වෙලා මත්ද්‍රව්‍ය නිවාරණ වැඩසටහන් තිබ්බා. දැන් අවුරුදු 20 ක් විතර වෙනවා. ඒවා අදටත් ක්‍රියාත්මකයි. ඒ සම්බන්ධයෙන් මම විදෙස් රටවල සමුළුවලට පවා ගිහින් තියෙනවා. ''මත් ද්‍රව්‍ය භාවිතය හා නිවාරණය පිළිබඳ බුදු දහමින් ලැබෙන මග පෙන්වීම'' කියන පර්යේෂණ නිබන්ධනය තමයි මම ශාස්ත්‍රපති උපාධියට ඉදිරිපත් කළේ. ලංකාවෙ මත්ද්‍රව්‍යවලට ඇබ්බැහි වෙච්ච අය බැලුවොත් වැඩි හරියක් ළමයි ලෝක සම්මත බෞද්ධයො. මේ අයව පන්සල මුල් කරගෙන දහමින් ඒ වැඩවලට යොමු කරනව නම් ආණ්ඩුවට ඔච්චර විසාල මුදලක් වියදම් කරන්න ඕන නෑ. මේ ළමයින්ට අපේ දහමින් පණිවිඩයක් දෙන්න පුළුවන් නම් ඒක කොච්චර වටිනවද?

ලෝකයේ පළවෙනියට මත් ලෝලීන් පුනරුත්ථාපනය කළේ බුදුන් වහන්සේ. ධම්ම පදයේ ජරා වග්ගයේ එන, කෝනු හාසෝ කිමානන්දෝ - නිච්චං පජ්ජලිතේ සති - අන්ධකාරේන ඕනද්ධා - පදීපං න ගවෙස්සථ? කියන මේ ගාථාව දේශනා කළේ සුරා බීල මත් වෙලා හිටපු ස්ත්‍රීන් 500 දෙනෙකුට. ඒ ගැන ඔය ගාථාවේ නිධාන කතාවෙ තියෙනවා. ඒ ස්ත්‍රීන් නිතරම මත්පැන් පානය කරල මත් වෙලා කෑ ගහනවා. විශාඛා උපාසිකාව බුදුන් වහන්සේට ආරාධනා කළා, මේ ස්ත්‍රීන්ට දහම් දෙසන්න කියල. ඒ අතර තමයි අර ස්ත්‍රීන් බීල කෑ ගහන ඝෝෂාව ඇහෙන්නෙ. ඉතින් බුදුන් වහන්සේ ඒ අයට මහා ඝන අන්ධකාරයක් මවල නැවතත් මහා ආලෝකයක් මැව්ව කියල ඒ කතාවෙ විස්තර වෙනවා. එතනදි අපි මේ නිකං ලාම්පුවක් පත්තු කරනව වගේ වැඩක් නෙවෙයි. අන්ධකාරය - ආලෝකය, හරි - වැරැද්ද. ඇත්ත වශයෙන්ම මේ මත්පැන් වගේ දේවල් පරිහරණය කරල මත්වීමේ යථා තත්ත්වය බුදුන් වහන්සේ දේශනා කළ අවස්ථාවක්. ඉතින් මෙච්චර වටිනා දහමක් තියෙද්දි ඇයි අපි ඒකෙන් ප්‍රයෝජන ගන්නෙ නැත්තෙ?

ඉතින් මගේ ගුරු හාමුදුරුවොත් තවම වැඩ ඉන්නවා. උන්වහන්සේ කෝරළ තුන සහ පහත බුලත්ගම දෙපලාතේ ප්‍රධාන අධිකරණ සංඝ නායක ශ්‍රී ජනානන්ද පූජ්‍ය පේරාදෙණියේ පේමානන්ද නායක හාමුදුරුවො. මම වහරක හාමුදුරුවො දැන හඳුනගත්තට පස්සෙ ඒ පන්සලේ මොනව හරි තිබුනොත් උන්වහන්සේවත් ඒ වැඩ කටයුතුවලට එක්කරගෙන යනවා. මොකද වැඩිහිටි තලත්තෑනි හාමුදුරුවරු මේ ගැන දැනගන්න එපැයි."

ඉතින් මේ තමයි උන්වහන්සේ තමන් වහන්සේගෙ අසනීප තත්ත්වයත් පැත්තකට දාල බොහොම සිනාමුසු මුහුණින් වහරක හාමුදුරුවො ගැන කියපු විස්තරය. ඒත් බලන්න අනිච්චතාවය කියන්නෙ මොන වගේ දෙයක්ද කියල. උන්වහන්සේ මේ විස්තරය අරගත්ත මොහොතේ පටන් ගත වුනේ පැය 8 කටත් අඩු කාලයක්. මම එදා රෑ එළිවෙනකල් දහම් කටයුතුවලට සහයෝගය දෙන තවත් කල්‍යාණ මිත්‍රයෙක් සමග සඟරාවෙ වැඩ කටයුතු කරල පාන්දර 3.00 ට විතර ඉවර වුනා විතරයි. උන්වහන්සේ අපවත් වුනා කියල පණිවිඩයක් ලැබුනා. වෛද්‍යවරුන්ටත් හිතාගන්න බෑ. පැය කිහිපයකට කලිනුත් බොහොම හොඳට ධර්මය කතා කළා. වහරක හාමුදුරුවන්ගෙ ගුණ, ධර්මයට ගලපල කියපු කතාව තමයි උන්වහන්සේගෙ අවසන් සාකච්ඡාව. එදා උන්වහන්සේ හමුවෙන්න මම රෝහලට යන්න පෙර එක තැන නැවතිලා බොහෝ වෙලාවක් කල්පනා කළා, අද යනවද හෙට යනවද කියල. කොහොම හරි ඉතින් ධර්මතාවයෙන්ම කරකවල මාව එදාම යැව්වා. බැරි වෙලාවත්, එදා යන්න බැරි වුනා නම්, අද මෙහෙම සටහනක් තබන්න වෙන්නෙ නෑ. ඒ නිසා, ගුණ කිව යුතු උත්තමයෙකුගේ ගුණස්කන්ධයක් මතු කරල පෙන්වීම ගැන උන්වහන්සේත් ලොකු පිනක් කුසලයක් සිද්ධ කරගත්තා. අද ආවේග ශීඝ්‍රව හැසිරෙන සමාජයටත් යම් කිසි දහම් පණිවිඩයක් දුන්නා. ඒ වගේම මේ සඟරාව කියවන පින්වතුන්ටත් වහරක අභයරතනාලංකාර හිමියන්ගේ ගුණ සම්බන්ධයෙන් ආදර්ශයට ගන්න පුළුවන් තවත් නොදුටු පැතිකඩක් හෙළිදරව් වුනා.



# පෙළ දහමේ සැඟවුනු තැන් සොයා... 05

**අංගුත්තර නිකාය - 4**

නකුල පිතු සූත්‍රය - 32 පිටුව
සෝතාපන්න නකුල මාතා අස්සාසප්පත්තා යනුවෙන් අස්සාසයට පත් තැනැත්තියක් බව පෙන්වා ඇත. මෙහි අස්සාස යනු හුස්ම නොවන බව මෙයින් පැහැදිලි වේ.

භය සූත්‍රය - 53 පිටුව
භය යනු කාමයට නමකි. දුක්ඛ යනු කාමයට නමකි. රෝග යනු කාමයට නමකි. ගණ්ඩ යනු කාමයට නමකි. සංග යනු කාමයට නමකි. පංක (මඩ) යනු කාමයට නමකි.

මේ අනුව ලෝක සම්මතයේ කියවෙන කාමයට වඩා ගැඹුරු අර්ථයක් මෙයින් කියවෙන බව තේරුම් ගත යුතුයි.

අනුස්සතිට්ඨාන සූත්‍රය - 55 පිටුව
ගේධ යනු පංචකාම ගුණයට නමකි.

නාග සූත්‍රය - 109 පිටුව
ඇතෙක්ගේ උපමාවක් ගෙන කරන ලද විග්‍රහයකි.
අකුසල නොකිරීම - සුද්ධ වූ සීල ගුණය - අවිහිංසාව කියන මේවා පෙර පාදවලට උපමා කර ඇත. තපස - බ්‍රහ්මචරියාව යනු පසු පාදයි. ශ්‍රද්ධාව සොඬයි. ශඩාංග උපේක්ෂාව දන්තයි.
ස්මෘතිය ග්‍රීවයයි. ප්‍රඥාව හිසයි. පිරිසිඳ දකින නුවණ සොඬ අගයි.
ධර්මස්කන්ධය උදරයයි. ත්‍රිවිධ විවේකය වලිගයයි.
ධ්‍යානාස්වාසය නිශ්චලව සිටීමයි. (ධ්‍යාන සමාධියට ආස්වාස යැයි කියන බවට නිදසුනක්)
සන්සුන් වූ සිවු ඉරියව්ව පූර්ණත්වයයි.
සම්‍යක් ආජීවය සන්නිධිකරණයෙන් (රැස් කරගෙන කරන පරිභෝගයෙන්) වෙන්වීමයි.
සංයෝජන සිඳීම අපේක්ෂා නැති ගමනයි.
ලොවෙහි නොඇල්ම නොතැවරීමයි.
සංඛාර සන්සිඳීම නිදහසයි.
බුද්ධ, නාගයාට (ඇතාට) උපමා වේ.

මිගසාලා සූත්‍රය - 111 පිටුව
මිගසාලා උපාසිකාවගේ පියා පුරාණ නම් බ්‍රහ්මචරියා වෙසින් සිටියේය.
සුළු පියා වූ ඉසිදත්ත අබ්‍රහ්මචාරීව සිටියේය.
දෙදෙනාම සකෘදාගාමීව තුසිත දෙව්ලොව උපත ලැබීය. මේ ගැන විස්තර ඇත.

මෙහිම 115 පිටුව
කෙනෙක් පමණ කිරීම (ගුණ මැන ගැනීම) ලෙහෙසි නොවේ. බුදුවරයෙක් හැර අන් අයට ඒ නුවණ නැත.

දාරුකම්මික සූත්‍රය - 175 පිටුව
දාරුකම්මික ගෘහපති රහත් හා රහත් මගට පිළිපන් අයට දන් දෙන බව පැවසූ විට, ගිහි කටයුතුවල නියැලී වෙසෙන අයට භික්ෂූන් වෙන් කර හඳුනාගත නොහැකි බව පවසා සංඝයා උදෙසා දන් දෙන්නැයි පැවසූ දේශනාව ඇත.

හත්ථිසාරිපුත්ත සූත්‍රය - 181 පිටුව
ධ්‍යානලාභීව සිටි භික්ෂුව පසු කලෙක ගිහිව, ගිහි පරිභෝග වළඳන්ට හැකි බව පෙන්වා ඇත.

පහීන සූත්‍රය - 249 පිටුව
සෝතාපන්නයාට ප්‍රහීණ කාරණ 6 ක් පෙන්වා ඇත. එනම්, සත්කාය දිට්ඨි - විචිකිච්ඡා - සීලබ්බත පරාමාස - අපායගාමී රාගය - අපායගාමී ද්වේශය - අපායගාමී මෝහය

කායානුපස්සී සූත්‍රය - 269 පිටුව
සතර සතිපට්ඨානය වැඩීමට කරුණු 6 ක් අත් නොහැර ☞

ඒ වගේම තමයි මේ සාකච්ඡාව අවසන් කරන්න මොහොතකට පෙර උන්වහන්සේ තවත් විශේෂ කාරණයක් කිව්වා. ඒ කාරණය තවත් විශේෂ වෙන්නෙ උන්වහන්සේ අපවත් වෙච්ච නිසා. ඒ තමයි, "හුඟක් අය අසනීපයි මහන්සියි කියල ඒක පිට දාල මොකුත් නොකර ඉන්නවා. නමුත් එහෙම කියල නිකං ඉන්න හොඳ නෑ. අසනීපය මහන්සිය පැත්තකට දාල මේ සාසනික කටයුතු පුළුවන් තරම් කරන්න ඕන. එතකොට තව ටිකකින් මළත් ඒ කරපු කියපු හොඳ කටයුතු ටික ඊළඟ අත්භවයට ඇදල එනවා." ඉතින් කිව්ව වගේම එතැන් පටන් තවත් ටික මොහොතයි ගත වුනේ, උන්වහන්සේ අපවත් වුනා. නැගී එන සාසනය වෙනුවෙන් උන්වහන්සේ තවත් විසාල වැඩ කොටසක් කරන්න සූදානම් වෙලා හිටියත්, ලෝකයේ හැමදෙනාටම එක සේ පොදු අනිච්චතාවය ඒකටත් හරස් වුනා. ඒ නිසා තම තමන්ගෙ යහපත පිණිස කරගන්න තියෙන වැඩ කටයුතු කල් පමා නොවී මේ මොහොතෙම කරගන්න හැම දෙනාම අධිෂ්ඨාන කර ගනිත්වා.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්...)

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

අභව්‍ය වේ.

1. කම්මාරාමතා - විවිධ කර්මාන්තවල නියැලීම.
2. භස්සාරාමතා - නිකං කතා කර කර ඉඳීම
3. නිද්දාරාමතා - අධිකව නිදා ගැනීම
4. සංගනිකාරාමතා - හිතවත් වීම
5. ඉන්ද්‍රිය පියුතුන් නැති බව (එනම් ඉන්ද්‍රියන් සංවර නැතිකම)
6. භෝජනයෙහි පමණ නොදැනීම

<u>**සමාධි පරික්ඛාර සූත්‍රය - 343 පිටුව**</u>

ආර්ය සම්මා සමාධිය මාර්ග අංග 7 කින් පරිවාර කොට ඇති බව පෙන්වයි.

<u>**දාන මහත්ඵල සූත්‍රය - 371 පිටුව**</u>

දානය මහත්ඵල මහානිසංස වන නොවන අයුරු පෙන්වයි.
ආසා බලාපොරොත්තු ඇතිව හෝ සම්පත් පතා හෝ පරලොව පාරිභෝග පතා හෝ දන් දුන්නොත් ඒ පිනෙන් සිවු මහ රජය ඇත. දෙව්ලොව උපදින්න හේතු වේ. පින ගෙවා නැවත මිනිසත් බවට එන ආගාමී පුද්ගලයෙක් වේ.
සමහරෙක් දානය මනා යැයි දන් දෙයි.
මව්පිය ආදීන් දුන්නේ මමද දෙමියි දන් දෙයි.
කුල සිරිත් අනුව යැයි දන් දෙයි.
නොපිසන අයට පිසින අය දිය යුතු යැයි දන් දෙයි.
පූර්ව ආචාරීන් වන අට්ඨක - වාමක ආදීන් අනුගමනය කරමින් දන් දෙයි.
සිත් පහන් වන්නේ යැයි දන් දෙයි.

මෙසේත් දන් දෙයි,
යමෙක් සමථ විදර්ශනා චිත්තයට පරිෂ්කාර යැයි දන් දේද, එය මහත් ඵල මහානිසංස වේ. ඒ කුසලයෙන් බ්‍රහ්ම කායික දේවතාවන් අතර උපදී. ඒ පින් ගෙවා නැවත මිනිසත් බවට නොඑන අනාගාමිකයෙක් වෙයි. මහත් ඵල මහානිසංස නම් වේ.

<u>**නන්ද මාතු සූත්‍රය - 373 පිටුව**</u>

වේළුකන්ටකී නන්ද මාතාව පරායන ධර්ම සංගායනාව කරන විට, වෛශ්‍රවණ දෙව් රජ ඒ අසා අනුමෝදන්ව තමන්ට බැයන් බවද පවසා සංඝයාට දන් දී තමාට එම පින්ද අනුමෝදන් කරන්නැයි කියා ගිය බවත්, සැරියුත් මුගලන් ප්‍රමුඛ සංඝයාට දන් දී අනුමෝදන්ද කළ බවත් සඳහන් වේ.

නන්ද මාතාව ධ්‍යානලාභීව සිටි බවද, සිවු වැනි දැහැනට සම වදින්න හැකිව සිටි බවද, අනාගාමී බවද පෙන්වා ඇත.

<u>**මාපුඤ්ඤභායී සූත්‍රය - 413 පිටුව**</u>

මා භික්ඛවේ පුඤ්ඤානං භායිත්ථ සුඛස්සේතං භික්ඛවේ අධි වචනං යදිදං පුඤ්ඤන්ති - බුදුන් වහන්සේ බෝසත් කල ධ්‍යානලාභීව 7 වසක් මෛත්‍රී භාවනා කළ පිනෙන් කල්ප 7 ක් මිනිස් ලොවට නොපැමිණ බඹ ලොව සිටි බවද, 36 වරක් සක්‍රදේව වූ බවද, නොයෙක් වර මනු ලොව සක්විති රජ වූ බවද පෙන්වා ඇත.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් දින පොතක සටහන් තබන ලද කරුණු ඇසුරිනි.*

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**






# ත්‍රිපිටකයේ විස්මිත බෙහෙතින් සුවපත් වූ හැටි.....

ලෝභ, ද්වේශ, මෝහයන්ගෙන් පීඩිත වෙච්ච මනුස්සයා ඇවතුම් පැවතුම්වලිනුත්, දූෂිත ආහාරපාන ඇතුළු පරිසරයෙනුත් තමන්ගේ සිත කය දෙකම තුවාලයක්, වණයක්, රෝහලක් කරගෙන දුක් විඳිනවා. **ශ්‍රී ලංකාවේ පමණක් දියවැඩියාවෙන් පෙළෙන රෝගීන් දවසකට ටොන් පහක් හෙවත් ලොරියක ප්‍රමාණයක් තරම් බටහිර ඖෂධ පෙති ගිලිනවා. පිළිකා, ඒඩ්ස්, ආතරයිටීස්, වකුගඩු රෝග, හෘදයාබාධ, අම්ල පිත්ත ප්‍රදාහය (ගැස්ට්‍රයිටීස්), රුධිර රෝග... ආදී විවිධ රෝගවලින් පෙළෙන රෝගීනුත් ඒ වගේමයි.**

ලෝකය විද බලා "ලෝකවිදූ" නම් ලෝකයේ සියලු විද්‍යාවන් පිළිබඳ උපරිම දැනුමෙන් යුක්ත වූ ලොව්තුරා බුදුන් වහන්සේ මේ සියලු රෝග සඳහා සුදුසු, නොමිලේ පහසුවෙන් හොයා ගන්න පුළුවන් ඖෂධ ප්‍රතිකාරයක් මහා කරුණාවෙන් දේශනා කළා. **විනය පිටකයේ මහා වග්ග පාළියේ භේසජ්ජ කාණ්ඩයේ පැහැදිලිව සඳහන් වෙන මේ බුද්ධ බෙහෙත පිළිබඳ දීර්ඝ විස්තරයක්** පූජ්‍ය කිවුල්දෙණියේ විජිතනන්ද ස්වාමීන් වහන්සේ විසින් හෙළ බොදු පියුම 67 වන කලාපයේ පළ කළා. ඒ විස්තරය ශ්‍රී ලංකාවේ මෝහ මූලික අන්ධයන්ගේ ඇස් ඇරවන්න කරපු ප්‍රකාශයක් විදිහට සළකන්න පුළුවන්.

මේ ලිපියෙන් බලාපොරොත්තු වෙන්නෙ, ඒ බුද්ධ භාෂිත පූතිමුත්ත භේසජ්ජය හෙවත් ස්වමූත්‍ර පානයෙන් සුවපත් වෙච්ච රෝගීන් පිළිබඳ හෙළිදරව් කිරීමක්. "ත්‍රිපිටකයේ විස්මිත බෙහෙත" නම් ග්‍රන්ථයේ අවසාන පිටුවෙත් ඒ විදිහට සුවපත් වෙච්ච පිළිකා, දියවැඩියා, ආතරයිටීස් රෝගීන්ගේ විස්තර දුරකතන අංක සහිතව සඳහන් වෙනවා.

හෙළ බොදු පියුම සඟරාවට ලිපිය ලියපු පූජ්‍ය කිවුල්දෙණියේ විජිත නන්ද හිමියන් දැඩි බඩේ වේදනාවකින් (අම්ල පිත්ත ප්‍රදාහය) අවුරුදු 16 ක් තිස්සේ නොවිඳිනා දුක් වින්ද බවත්, දේශීය සහ බටහිර වෛදකමින් නොකළ ප්‍රතිකාරයක් නැති බවත් ප්‍රකාශ කරනවා. අවුරුදු 16 ක් තිබ්බ්ච වේදනාව ස්වමූත්‍ර පානයෙන් දින 6 කදී සම්පූර්ණයෙන් සුවපත් වූ බවත්, දැනට බුද්ධාවවාදයට අනුව ගිලන් පසක් විදිහට දිගටම පානය කරන බවත් පවසනවා.

## වසූරිය පවා සුව කරයි.

කොළඹ මහ රෝහලේ හිටපු නියෝජ්‍ය අධ්‍යක්ෂ රාණි ප්‍රනාන්දු මහත්මිය, මීතිරිගල නිස්සරණ වන සේනාසනාධිපති, කම්මට්ඨානාචාර්ය පූජ්‍ය උඩඊරියගම ධම්මජීව හිමිපාණන් වහන්සේ සමග කළ ධර්ම සාකච්ඡාවකදී මේ ප්‍රතිකාරය පිළිබඳව අත්දැකීම් සහිත තොරතුරක් පවසල තිබුණා. මමත් ඒ තොරතුර පිළිබඳව දුරකතනයෙන් එතුමිය අමතල තහවුරු කර ගත්තා. එතුමියගේ වචනයෙන්ම සිද්ධිය මෙහෙමයි.

"මගේ සීයාගෙ නම ජෝර්ජ් පෙරේරා කුරුණෑරු. පදිංචි වෙලා හිටියෙ මාගාල්ලෙ. සීයා අවුරුදු 106 ක් ජීවත් වෙලා 1981 දි මියගියා. මේ සිද්ධිය 1925 දි පමණ සීයා මැදි වයසෙදි සිද්ධ වෙච්ච දෙයක්. මාත් එක්ක කිව්වෙත් සීයමයි.

ඒ කාලෙ සීයා රැකියාවට කළේ විදේශ වෙළඳාම. රේන්ද, රිදියෙන් රත්තරන්වලින් සහ කැස්බෑ ලෙලිවලින් නිෂ්පාදනය කළ අරුමෝසම් බඩු අරගෙන සිංගප්පූරුව, මැලේසියාව, චීනය, සැන්සිබාර් වගේ රටවලට නැව්වලින් ගිහින් වෙළඳාම් කළා. දකුණේ අය ඒ කාලෙ ගාල්ලෙන් නැව් නැගල පිටරටවලට ගිහින් මේ වෙළඳාම් කළා.

ඉතින් එක වතාවක් මෙහෙම මුහුදු ගමනේ යනකොට නැවේ හිටිය කෙනෙකුට වසූරිය රෝගය හැදිලා. ඔහුගෙන් මගේ සීයාටත් බෝ වෙලා. මේ මාරාන්තික රෝගය නැව පුරා බෝවුණොත් සියලු දෙනාම මැරෙනවා. ඒකෙ ආයෙත් දෙකක් නෑ, මැරෙනවාම තමයි. ඒ නැවේ කපිතාන්වරයා නැවේ හිටපු සියලුම කාර්ය මණ්ඩලයත්, නැවේ ගමන් කළ සියලු දෙනාත් රැස් කරල උපදෙසක් දීල තියෙනවා. ඒක උපදේසයකට වඩා තදබල නියෝගයක්.

මේ නැවේ ඉන්න හැම කෙනෙක්ම මේ මොහොතේ පටන් තමන් විසින් පිට කරන තමන්ගෙම මූත්‍ර බිඳුවක් පවා ඉවත නොදා තමන්ම පානය කරන්න ඕන. එහෙම නොකරන යම් කෙනෙක් ඉන්නව නම්, ඔහු අල්ලල මුහුදට දමන බවටත් දැඩි ලෙස අවවාද කරල තියෙනවා. වසූරිය එයින්ම සුව වුනා, තව කිසි කෙනෙකුට බෝ වුනෙත් නෑ කියල සීයා මාත් එක්ක කිව්වා."

මේ ස්වමූත්‍ර පානයේ ඖෂධීය ගුණය 1925 වෙනකොටත් විදේශීය නැව් සමාගම්වල කපිතාන්වරු පවා දැනුවත්ව හිටපු රහස් ඖෂධයක් ☞

බව මේකෙන් පැහැදිලි වෙනවා.

බටහිර වෛද්‍ය විද්‍යාව උගත්, ඒ වගේම ශ්‍රී ලංකාවේ ප්‍රධාන ආරෝග්‍ය ශාලාවේ අධ්‍යක්‍ෂවරියක් විදිහට සේවය කරන, විශේෂඥ වෛද්‍ය රාණි ප්‍රනාන්දු මහත්මිය මේ විදිහට නොපැකිළව අවංකව තමන්ගෙ අදහස් ප්‍රකාශ කිරීමත් වැදගත් දෙයක්.

ඒ වගේම ඌව පළාතේ ප්‍රධාන රෝහලක දැනටත් සේවය කරන විශේෂඥ වෛද්‍යවරියක් පසුගිය සතියේ දුරකතනයෙන් මා අමතල, ඇයට වසර දහයක පමණ කාලයක් වේදනා දුන්, බටහිර ප්‍රතිකාරවලින් සුව නොවෙච්ච ආතරයිටීස් රෝගය ස්වමූත්‍ර පානයෙන් සුව වෙච්ච බව ස්තුති කරමින් පැවසුවා.

මීතිරිගල නිස්සරණ වන සේනාසනයේ නිර්මාතෘ පූජ්‍ය පණ්ඩිත මාතර සිරි ඥානාරාම මහෝපාධ්‍යායන් වහන්සේ ලියපු ලිපියක අමරෝලී හෙවත් ස්වමූත්‍ර පානය ගැන මේ විදිහට සඳහන් වෙනවා.

<u>ආශ්චර්ය රෝග නිවාරණ ක්‍රමයක්</u>

මේ ඖෂධ රහිත ප්‍රතිකාර ක්‍රමය විශේෂයෙන් ආරණ්‍යවාසී භික්ෂූන් වහන්සේලා සඳහාම පහළ වූවක් දෝ හෝයි මට සිතෙයි.

බොහෝ විට ආරණ්‍ය සේනාසනවලට බෙහෙත් වර්ග ලබා ගැනීමට පහසුකම් අඩු හෙයින් මෙම පාදසමවාහන ප්‍රතිකාර ක්‍රමයෙන් නොයෙක් විදිහේ ශාරීරික රෝග යන් සුව කර ගැනීමට ලැබීම මහත්ම සැනසිල්ලකි. අපේ ගිලානෝපස්ථාන පිරිස් මේ ගැන සිත් යොදාලීම මැනවැයි සළකමි.

මේ සමවාහන ප්‍රතිකාර ක්‍රමයෙන් මගේ ශරීරය තුළ පැවති ආබාධ කීපයක්ම ක්‍ෂණිකව සුවයට පත් වූ බව පුද්ගලික අත්දැකීම්වලින් මට ප්‍රකාශ කළ හැකිය.

සියලු සත්ත්වයෝ සුවපත් වෙත්වා !

මෙයට,

**මාතර ඥානාරාම ස්ථවිර**
**(1985 පෙබරවාරි 26)**
**මීතිරිගල නිස්සරණ වනය**

මේ අමරෝලී ප්‍රතිකාරයෙන් ප්‍රතිඵල ලබන්න ආහාර, විහාර, මනෝ ව්‍යවහාර කියන කාරණා සම්පූර්ණ විය යුතුයි. ඒ කියන්නෙ, අපත්‍ය ආහාරවලින් වැළකීම, යහපත් පරිසරයක ජීවත්වීම සහ ආජීව අෂ්ටමක සීලය (ගිහියන්) සමාදන් වෙලා කය, වචන හා සිත සංවරය වැදගත්.

මේ ප්‍රතිකාරයෙන් සුවපත් වූ පිළිකා රෝගියෙකුගේ කතාව ඉදිරියේදී බලාපොරොත්තු වන්න.

**මතුගම මහින්ද විජේතිලක**
**"ත්‍රිපිටකයේ විස්මිත බෙහෙත" ග්‍රන්ථයේ**
**සංස්කාරක**
**071 - 6398690**

# සමාධිමය අත් බෙහෙත්...

ප්‍රජාපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ලෝ සතුන් කෙරෙහි අනුකම්පාවෙන් ගිලාන ප්‍රත්‍ය කටයුත්තක් වශයෙන් සළකා බෙහෙත් සමාධියෙන් මතු කරගත් තවත් ප්‍රත්‍යක්‍ෂ අත් බෙහෙත් කිහිපයක් පින්වත් ඔබගේ ප්‍රයෝජනය පිණිස මේ විදිහට සටහන් කරනවා. මීට පෙරත් සඳහන් කළා වගේ මේ සියලු බේත් ඒ ඒ පුද්ගලයන්ගේ කර්ම ශක්තීන්ට යටත්ව ප්‍රත්‍ය වෙන බව සළකන්න.




### 1. අජීර්ණ අම්යා දෝස, පණු රෝග, තුන් දොස් සමනයට

තිප්පිලි, අසමෝදගම්, ගම්මිරිස් නැටි, ගම්මිරිස් ඇට, මී පැණි, වලඟසාල්, කුරුඳු පොතු, ඉඟිනි ඇට කුඩු, පොල් කිරෙන් පැය 2 ක් තම්බා ගත් රත් කිතුල් මුල්, තල කියන මේ අමුද්‍රව්‍ය කලං 2 බැගින් අරගෙන විස මරා ගත් ගෙන්දගම් කුඩු කලං 1/2 ක් සමග අඹර ගන්න. මදි පාඩුවට මී පැණි දමා අඹර ගන්න. මේ මිශ්‍රණයෙන් මදටිය ඇට පමණට ගුලි හදාගෙන උදේ රාත්‍රී ආහාරයට පෙර ගුලිය බැගින් ගෙන උණු දිය ටිකක් පානය කරන්න.

### 2.කන් නැසීම, දත් සෙළවීම, හිසේ බර ගතිය ඇතුළු මොළය ආශ්‍රිත සියලු ආබාධ සඳහා තෙලක්

අවශ්‍ය මූලික අමුද්‍රව්‍ය :- අන්නාසි ගහේ බොඩ, ළපටි පුවක් මල් ගැට, ඇත්තඩි ගස්, බලුනකුට මල් ගසේ මුල්, ඉගුරු පියලි, පාවට්ට ගහේ පස්පංගුව (කොළ, දළු, මල්, මුල්, පොතු), මානෙල් අල, බේත් ගොටුකොළ දඬු කලං 6 බැගින්.

මේ සියල්ලටම වතුර බෝතල් 12 ක් දමා 4 ට හිඳගෙන ඒ කසාය පෙරාගෙන පිරිසිදු තල තෙල් බෝතල් 3/4 ක්, රත් තැඹිලි තෙල් බෝතල් 1/2 ක්, මීතෙල් බෝතල් 1/2 ක්, වල් දෙල් ඇට තෙල් බෝතල් 1/4 ක් දමා සම පාකයට හිඳගන්න.

හිඳෙන කොට සුදුරු, කළුදුරු, ගැටපිච්ච මුල්, සමන්පිච්ච මුල්, සැවැන්දරා මුල්, ඉඟිනි ඇට කුඩු කියන මේවා කලං 4 බැගින් අඹරගෙන කල්ක කරල තෙලට මිශ්‍ර කරගන්න. ඒ විදිහට හදාගත්තු තෙල මාස 6 ක් හිසට දමන්න.

### 3. හිසේ තැල්ම නිසා වන කෙස් පැසීම සහ සෙම් හිරවීම්වලට තෙලක්

ස්වභාවිකව සිදුවන හිස කෙස් පැසීම හැර, හිසේ තැල්ම වගේ යම් හදිසි අනතුරු නිසා වන හිස කෙස් පැසීමත්, සෙම් හිරවීම්වලටත් මේ තෙල ප්‍රත්‍ය වෙනවා. මේ සඳහා පහත සඳහන් අමුද්‍රව්‍ය අවශ්‍යයි.

රත් තැඹිලි ගසේ කොළ, ගොබ (සුදු ළපටි කොළ), මල්, පොතු, මුල් කියන පංචාංගය කලං 6 බැගින්. කළුදුරු සහ රත් හඳුන් (මේ දෙකම තෙල් සමග කැකෑරීමටයි) කලං 6 බැගින්. කැළෑ දෙල්මුල්, කළු උක් පුරුක්, හීන් නාරං කොළ, නස්නාරං කොළ, දෙහි කොළ, ඇඹුල් දොඩම් කොළ, වැල් දෙහි කොළ කලං 6 බැගින්.

මේ අමුද්‍රව්‍යවලින් කළුදුරු සහ රත් හඳුන් හැර ඉතිරි සියල්ලම කොටාගෙන ඒ බේත් ප්‍රමාණය වගේ 4 ගුණයක් ජලය දමා 1/4 දක්වා කකාරවගෙන පෙරාගන්න. ඒ විදිහට පෙරා ගත් ද්‍රාවණයට පිරිසිදු තල තෙල් බෝතල් 1/2 ක් සහ පොල් තෙල් බෝතල් 1 ක් දමා ඉහත සඳහන් කළුදුරු සහ රත් හඳුන් මිශ්‍ර කරල ලිපේ තියල මුදු පාකයට හිඳගෙන පෙරාගෙන හිසට දමන්න ගන්න.

### 4. හිසේ තැලුම් විස, සෙම... ආදිය සුව වීමට තෙලක්

අවශ්‍ය අමුද්‍රව්‍ය :- පනම්පෙති කලං 3 යි, රත් කෙසෙල් මුහයක ඉස්ම, අමු ඉඟුරු කලං 3 යි, ස්වභාවිකව මියගිය ඇතෙකුගේ ඇත් දළ කුඩු කලං 3 යි, පිරිසිදු තල තෙල් බෝතල් 1/4 යි, මී තෙල් බෝතල් 1/4 යි, ඉටි වර්ග 5 ක් කලං 3 බැගින් (මී ඉටි, කනෙයියා ඉටි, දඬුවෙල්වැ ඉටි, බඹර ඉටි, දෙබර ඉටි)

මේවායින් රත් කෙසෙල් මුහ ඉස්ම, අමු ඉඟුරු ඉස්ම, පනම්පෙති, ඇත් දළ කුඩු, තල තෙල්, මී තෙල් කියන මේවා සියල්ල එකතු කරල මුදු පාකයට හිඳගෙන ඉන්පසු ඉටි වර්ග 5 දමා තෙල හොඳින් පදම් කරගන්න. උදේ හවස හිස ගල්වන්න.

සටහන
නීතිඥ චන්දන සිරිවර්ධන

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 73 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

## ශ්‍රම දායකත්වය

■ ධම්මික සේනාධීර මහතා - හසරු ප්‍රින්ටර්ස් - මාලබේ ■ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ■ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ■ සඳරුවන් පෙරේරා මහතා - මොරටුව ■ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ■ ඒ. එම්. ධනරත්න අල්විස් මහතා - පැපිලියාන ■ එස්. ඒ. එස්. පෙරේරා මහතා - පානදුර ■ නිවන්ති වීරතුංග මහත්මිය - මාතලේ ■ රත්න පෙරේරා මහතා - කැස්බෑව ■ මතුගම මහින්ද විජේතිලක මහතා ■ ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ■ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ■ නන් අයුරින් දායක වූ පින්වතුන්

## මූල්‍යමය දායකත්වය

■ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ■ තේමික ලියනගේ මහතා, ලිතුලි ලියනගේ මෙනවිය, තිසරි ලියනගේ මෙනවිය, ඔල්ගා ලියනගේ මහත්මිය, දිනේෂ ලියනගේ මහතා - මහර - රු. 25,000/- ■ ජේ. එම්. ජයවර්ධන මහතා, මල්ලිකා දිසානායක මහත්මිය, නිමල් ඇලපාත මහතා සහ චාන්දනී විජේසිංහ මහත්මිය - රු. 10,500/- ■ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ දියණියන් - නුගේගොඩ - රු. 10,000/- ■ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ■ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙව්න්යා දුව - ගල්කිස්ස - රු. 10,000/- ■ වෛද්‍ය තාරක රත්නායක මහතා සහ ලසන්ති රත්නායක මහත්මිය - නුගේගොඩ රු. 7,000/- ■ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ■ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා, කෙනුලි ලොකුමාන්න දුව - ගල්කිස්ස - රු. 5,000/- ■ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු. 5,000/- ■ අමිල සල්ගාදු මහතා, ජයන්ත සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 5,000/- ■ මෙරිල් ඩයස් මහතා, ඩිලානි ඩයස් මහත්මිය, ශවින්ද්‍රි ඩයස් සහ ප්‍රශානි ඩයස් යන දියණියන් - නාවින්න - රු. 5,000/- ■ එල්. එච්. සුමනදාස මහතා - ඉහලනයිනවල, කරන්දෙණිය - රු. 5,000/- ■ රොෂාන් අජිත් රුද්‍රිගෝ මහතා - පමුණුගම - රු. 5,000/- ■ සුමනා කොඩිතුවක්කු මැණියන්ට නිදුක් නිරෝගී සුවය හා දීර්ඝායුෂ පතා - චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙණිය - රු. 5,000/- ■ නුවන් යාපා අමරසේකර මහතා සහ චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය - රදාවාන - රු. 4,000/- ■ සුජාන් කරස්නාගොඩ මහතා සහ නිලූෂි දිසානායක මහත්මිය - ඕස්ට්‍රේලියාව - රු. 3,100/- ■ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ■ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ■ කේ. එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ■ දේශිකා වික්‍රමසිංහ මෙනවිය ඇතුළු පවුලේ සැම - කොළඹ - රු. 3,000/- ■ ටී. ටී. පී. සිල්වා මහත්මිය - නාගොඩ කළුතර රු. 2,500/- ■ ඩී. ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2,500/- ■ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 2,000/- ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනට සහභාගී වන පින්වතුන් - රු. 2,000/- ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ■ පී. රුවීනා දීපානි මහත්මිය ඇතුළු පවුලේ සැම - පිටකෝට්ටේ - රු. 2,000/- ■ විපුල සංජීව මහතා ඇතුළු පවුලේ සැම - හෝමාගම - රු. 2,000/- ■ එල්. එම්. සුනිල් මහතා - දෙවිනුවර - රු. 2,000/- ■ එස්. එච්. විතාරණ මහතා ඇතුළු පවුලේ සැම - තංගල්ල - රු. 2,000/- ■ එස්. ඩී. සමීර සුමිත් කුමාර මහතා සහ කේ. ඒ. දිලීනා සඳරුවනි මෙනවිය - කඹුරුපිටිය - රු. 2,000/- ■ එස්. එස්. රණතුංග මහත්මිය - තල්පාවිල, මාතර - රු. 2,000/- ■ පූජ්‍ය කොච්චිකඩේ ප්‍රඥාමූර්ති හිමි - රු. 1,500/- ■ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ■ තිලානි ද සිල්වා මහත්මිය - රු. 1,500/- අනුරුද්ධ ශ්‍රීමාල් මහතා - ඇත්ගල - රු. 1,500/- ■ ජේ. කේ. සිසිර කුමාර සමරදිවාකර මහතා ඇතුළු පිරිස - එල්ලක්කල - රු. 1,350/- ■ කුමාරි විජේකෝන් මහත්මිය - මිනුවන්ගොඩ - රු. 1,200/- ■ පූජ්‍ය උඩුගම්පොල විජයනන්ද හිමි - රු. 1,000/- ■ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ■ එරංග ලියනගේ මහතා සහ බිසන්තිකා ගුණසේකර මහත්මිය - කළුබෝවිල - රු. 1,000/- ■ චතුරිකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු. 1,000/- ■ රේණුකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු. 1,000/- ■ ක්‍රිෂාන්ත ප්‍රියමධු මහතා - කළුබෝවිල - රු. 1,000/- ■ ගාමිණී ලියනගේ මහතා සහ නයෝමි තරංගා ලියනගේ මෙනවිය - නැදිමාල - රු. 1,000/- ■ සී. එම්. පී. සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ■ සිරිමල් වේරගම මහතා - යොවුන්ගම - රු. 1,000/- ■ ඒ. විල්සන් පෙරේරා සහ එම්. කල්‍යාණි පෙරේරා යන දෙපළට පිං පිණිස ජයරාණි නිරංජලා අමරතුංග මහත්මිය - තලපත්පිටිය - රු. 1,000/- ■ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1,000/- ■ සමන්ති රාජපක්ෂ මහත්මිය - පන්නිපිටිය - රු. 1,000/- ■ ඒ. ඒ. එන්. අමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම - අවුලේගම - රු. 1,000/- ■ එල්. ඒ. කේ. ද සිල්වා මහතා - කිරුලපන - රු. 1,000/- ■ නිලූකා වෙල්ගම මහත්මිය ඇතුළු පවුලේ සැම - කඳාන - රු. 1,000/- ■ ඒ. ධර්මපාල මහතා - එල්ලක්කල - රු. 1,000/- ■ පද්මිණී සේනානායක මහත්මිය - කළුගෙඩිහේන - රු. 1,000/- ■ වින්ධ්‍යා නිර්මාණි දුව - රදාවාන - රු. 1,000/- ■ රන්දුල ඉන්ද්‍රකුමාර මහතා - මිනුවන්ගොඩ - රු. 1,000/- ■ අරුණ ගනේහේවා මහතා - රත්තනපිටිය - රු. 1,000/- ■ සඳලි ගනේහේවා මෙනවිය - රත්තනපිටිය - රු. 1,000/- ■ චන්ද්‍රසේන ඉලේසිංහ මහතා සහ දයා ඉලේසිංහ මහත්මිය - නිට්ටඹුව - රු. 1,000/- ■ ඩිමාලි ශෂිකලා විජේසිංහ මෙනවිය - රණාල - රු. 1,000/- ■ චන්දන නිලන්ත මහතා, ප්‍රදීපිකා දිල්රුක්ෂි මහත්මිය, මෙතුලි නෙසඳු දුව - නෙළුව - රු. 1,000/- ■ ටී. කේ. තිලකසිංහ මහතා - ගලපිටමඩ - රු. 1,000/- ■ දයාවතී එදිරිසිංහ මහත්මිය - නාගහහේනවත්ත - රු. 1,000/- ■ ඒ. ඒ. අකිල ඩිල්ශාන් පුතා - රදාවාන - රු. 1,000/- ■ මැණිකේ දිසානායක මහත්මිය - දළුගම - රු. 1,000/- ■ ඩබ්. චන්ද්‍රරත්න මහතා - පාදුක්ක - රු. 1,000/- ■ කේ. උපාලි ජිනදාස මහතා - දිවුරුම්පිටිය - රු. 1,000/- ■ සාරංග දර්ශන මහතා සහ සුරේඛා නිල්මිණී මහත්මිය - සේදවත්ත - රු. 1,000/- ■ හසිත මහතා, දිනූෂා මහත්මිය සහ ලෝමෙත් පුතා - කොළඹ 10 - රු. 1,000/- තිස්ස බී. අතාවුද මහතා ඇතුළු පවුලේ සැම - ජා ඇල, එම්. ඩී. තිලකරත්න මහතා ඇතුළු පවුලේ සැම - වැලිපැන්න, රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා - මහරගම, දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව, කුමාරි ගොඩවිට මහත්මිය - කුරුණෑගල, රසික තුෂාන්ත මහතා - හෝමාගම, එකතුව - රු. 3,500/- එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 223,650/- ■ පළමු පිටපත් 15,000

සඳහා මුද්‍රණ වියදම රු. 367,000/- ■ අනෙකුත් වියදම් - 15,000/- ■ සම්පූර්ණ වියදම - රු. 382,000/- ■ එක් පිටපතක නිෂ්පාදන වියදම - රු. 25.46/- මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝසවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net | mp3.hiddendhamma.net | www.helabodhupiyuma.net | www.aaryadharma.org | www.waharaka.com

විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අං:- 071 3046895 / 036-2267111 / 072 7076688

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සැම පුන් පොහෝ දිනකම සහ සැම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සැම මසකම 1 වන සහ 3 වන සෙනසුරාදා ආශිර්වාද පූජාව සහ ධර්ම සාකච්ඡාව. 2 වන සහ 4 වන සෙනසුරාදා භාවනා වැඩසටහන්

**ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.**

# සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්.

හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුත්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථාන:

(1) චන්දුල වෙළඳ විමන, අංක 104, හයිලෙවල් පාර, මහරගම 077 7258851 (2) හසරු ප්‍රින්ටර්ස් - මාලබේ. (071 4220558 /011 2744308) (3) නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 077 3742023 (4) පිනැකල් නෙට් - හයිලෙවල් පාර, ගොඩගම- 011 2895132 (5) අමර බුක් ෂොප් ඇන්ඩ් කොමියුනිකේෂන් - අංක 113/11 ඒ, බණ්ඩාරනායක මාවත, රත්නපුර - 071 2404242, 072 2404242 (6) පෝලර් රිජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038 2235369 (7) ස ර ස වි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 077 3474081 (8) හෙළ බොදු සිසිල සෙනසුන - මුරුතමුරේ, හක්මන - 041 3021878 (9) පත්මසිරි ස්ටෝර්ස් - මුරුතමුරේ (පන්සල අසල) හක්මන - 071 8149714 (10) යාපා ටෙක්ස් (සීබ්‍රා ඇපරල්ස්) - 150, නව ආර්ථික මධ්‍යස්ථානය, කෑගල්ල. - 071 4569500, 035 3222220 (11) සොබා දහම් ගොවිපොළ, සණස, උකුවෙල, මාතලේ 071 8261500 / 066 2245353 (12) දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 071 8059784, 077 2055098 (13) තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම - 011 2857572 (14) තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක - 076 6114237 (15) ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල - 091 2242610 (16) නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර - 041 2225118 (17) සහන ෆාමසි - මුණගම, හොරණ - 071 2608776 (18) මෝල්ලෙ කඩේ - මුදුන, වලස්මුල්ල - 071 1662643 (19) දිලුනෙත් - පාසල් මාවත, කඹුරුපිටිය - 071 9856555 (20) ඒකනායක මන්තින්දාරාමය - ඉහළගම, මහඋඩගම, ගම්පොළ, නුවර - 077 - 541 64 61 / 081 - 020 57572 (21) අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුන, බාලදක්ෂ මාවත, ගල්කඩවල, අනුරාධපුර - 076 6442125 (22) රුහුණු ෆුඩ් ලයින්, අංක 05, හලාවත පාර, කොච්චිකඩේ - 031 2277726 (23) දම්රුස් ටෙක්ස් - 10 බී, ගාලු පාර ගල්කිස්ස - 011 2721037 (24) චන්දන පූජා භාණ්ඩ - 100, බදුල්ල පාර, හාලිඇල - 055 2294999 (25) කුමාර අයන් වර්ක්ස් - 209 ඒ, ගලහිටියාව, ගනේමුල්ල - 076 9604682, 071 3329621 (26) රුචිර ද සිල්වා මහතා - අංක 09, ග්‍රෑන්ඩ් හොටෙල් පාර, නුවරඑළිය - 077 2717514 (27) ගමගේ පොත්හල, අංක 119 ඒ/1, මිද්දෙණිය පාර, අඟුණුකොළපැලැස්ස - 071 4492649 (28) නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනින් (බදාදා පෙ. ව. 9.00 සිට 3.00 දක්වා පමණි.) 077 2292677 (29) රාජපක්ෂ වෙළඳසැල - බැද්දෙගෙදර, මිද්දෙණිය පාර, වීරකැටිය - 07 12136329 (30) සංජීව සුපර් ග්‍රොසරි - ප්‍රධාන වීදිය, බඩල්කුඹුර 075 5863883, 055 2250051 (31) සෙල්මින් ලේබල් (පුද්.) සමාගම - 313/29 බී, ගෝනමඩිත්ත පාර, පිළියන්දල - 077 3018686 / 011 2616349 (32) සෙනාරෝ සෙන්ටර් - අංක 35, රාජගිරිය පාර, රාජගිරිය - 075 5569555 (33) එරංග ඝෘෙල කෙලින් වීදිය, දේවාලෙගම (පොල්ගහවෙල පාර) - 071 4569500 / 035 3222220 (34) අමිල ට්‍රේඩර්ස්, අංක ඩී1, ඒ. ඒ. ධර්මසේන මාවත, මහනුවර - 075 7246797 (35) උපාලි පූජා භාණ්ඩ මන්දිරය - හොරණ 077 7722531 (36) ශෛල පබ්බතාරාමය, ගිජිදාගම, පොල්ගහවෙල 071 212 5880 (37) සිරිමල් වේරගම මහතා, අංක 44, යොවුන්ගම, මීගොඩ - 072 5728829 (38) ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 077 7794676 (39) සමනල පොත්හළ - නෙළුව - 071 2837757 (40) ශ්‍රී ලංකා වරාය අධිකාරිය, බොදු මග ක්‍රියාශීලී සංසදය, ජයබහලු පර්යන්තය - 071 8069302, 077 3685043 (41) ශ්‍රී සුදර්ශනාරාමය, මහවෙල, මාතලේ 076-7997638 (42) එච්. පී. ආර්. කොමියුනිකේෂන්, අංක 195/2, පල්ලිය පාර, ලියනගේමුල්ල, සීදූව 071-5302917 (43) සෙව්වන්දි පොත්හළ, පාසල් මාවත (වැරෙන්කටගොඩ මහා විද්‍යාලය ඉදිරිපිට), වැරෙන්කටගොඩ, අම්පාර 077-4182684 / 077-0844980

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

**ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.**



# කිසාගෝතමී ථේරාපදානය

කිසා ගෝතමිය කවුරුත් අසා ඇතී
නිසා කෙළෙස් බුදු හිමි පා මුලේ එතී
අසා දහම හිමි දෙසු උපදවා බැතී
දොසා බිඳැර අරහත් සුව ලබා ගතී

පදු මුත්තර බුදුන් වැඩ සිටි පෙර දවස
සැදු සිත ඇය දිනක අරහත් වනු පිණිස
බුදු නුවණට පෙනුනි එය හිමි දෙසු මෙලෙස
සිදු වෙයි නිසැක ගෝතම සසුනෙදි එලෙස

පාරමි දම් පුරාගෙන මැය එදා සිට
ගෝර බිමේ සසරින් මතු මිදීම ට
නෑර මොහොත කුදු කුසලෙහි යෙදී සිට
සූර විය නිවන් මග දැක ගැනීම ට

නැවත මනු ලොවින් චුත වී පිනැති ළඳ
එවක කසුප් බුදු හිමි වැඩ සිටිය සඳ
සුවච කුමරියක වී රජ ඉසුරු මැද
දවස ගෙවුනි දැහැමිව ගුණ ගරුක ලෙද

ගව් තම බුදුන් කල මැය දුගී පවුලක
යව් වනියකව ඉපදුනි පිනේ අඩුවක
සව් සිරි පිරි පුතෙකු සිටු මහා පවුලක
හව් හරණයකි ඇය හට වුනා සැමියෙක

මොවුනට පසු කලෙක දරු පැටියෙකු ලැබුනි
අකලට අනේ දරු පැටියා මිය ඇදුනි
මැය හට මෙදුක ඉවසා ගත හැකි නොවුනි
දරුවට පණ දෙමියි උමතුව සැරි සැරුනි

වෙද ඇදුරෙකු සිටී අසවල් ඉසව්වේ
ළඳ සිහියෙන් නොවේ එහි පිය එසෙව්වේ
ලද හැක සුවය නැගණිය හිමි හැඟෙව්වේ
ගෙදරක නොමළ අබ ගෙනෙවැයි ඇණෙව්වේ

දිවියෙහි අනිස බව එපරිදි පසක් වුනා
ඇකයෙහි රැඳුන පුතු මළ කඳ අහක් වුනා
මනසෙහි පැවති සැක හැර යහපතක් වුනා
නිවනෙහි සුවය විඳ දිවියට සෙතක් වුනා

(අපදාන පාළිය - කිසාගෝතමී ථේරාපදානය ඇසුරෙනි.)
පබැඳුම :- කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා















# ලොව අරමුණුවලින් තොර දම් මෙහෙවරට...

තුන් පිටකයට සවියක් වූ කිරම හිමී
පින් බර සඟ ගණද දම් මෙහෙවරට නැමී
සුන් කර දමන්නට දහමට එරෙහි බැමී
දැන් වුව පණිවිඩය කෙටියෙන් ඔබට දෙමී

අති දුලභව ලැබුන සදහම තියෙන විට
නිති සිත යොමනු දුගතිය යළි නොලැබුමට
යති වර ගණ පහල වී දම් දෙසන කොට
ගැති නොමවව් පහර ගසමින් පැවතුමට

පෙර පින් කරණ කොට අපතර පහල වන
තෙර වරු දෙසන දම් බොරු නැත නිවන දෙන
මර ණය පෙනි පෙනී මතු දුගතියට යන
නර යිනි නොම බනිව් ගුණයට පවකි හෙණ

පස් කම්වලට ගිජු වූ අය අදද ලොවේ
දොස් දෙයි මුණි බණට තම පැවතුමට හවේ
දිස් වෙන දහම පෙනි පෙනි ලාභයට දැවේ
බස් දෙති මුසාවෙන් ඒ නිවනකට නොවේ

දෙස් පාලන නිකා හේදද නොගැළපෙන
දොස් ඇත වස්තු තණ්හාවද අගති දෙන
හිස් දේ නොගෙන බුදු බස යළි හඳුන ගෙන
පස් පව් දුරැර නිවනට හිත යොමනු මැන

එදවස තිබුන දම් කඳ දෙන නුවණ නැණ
අදහස වෙනස් විය පරවුන් කළහ වින
නිදහස පතා යතිවරු යළි පහල වුන
මෙදවස මතු කළා බුදු බණ නිවන දෙන

කිත් පැසසුම්වලින් තොර දම් මෙහෙවරට
ලත් තව තැනකි ඔබ වෙනුවෙන් මොක් පුරට
සත් වග සතට බුදු හිමි දුන් දම් කිරට
සිත් ගෙන දොස් නොදෙව් දුගතිය ඇත දුරට

වහරක සමිඳ යළි මතු කළ දහමෙ ගුණ
පහ කර දමයි මහ දුක් කඳ සසරෙ එන
මහ ඵල ලබන සඟ පිරිවර ඉදිරි දින
දහමට වඩියි ලෝ සත හට නිවන දෙන

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන









1073 Rs.25.00
Hela Bodhu Piyuma 73

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් සංස්කරණය කර නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කරවා ප්‍රසිද්ධ කරන ලදී.